සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2018 මාර්තු)

78 වෙනි කලාපය







## ආදාහනයෙන් වසරකට පසු

# වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේගේ ධාතූන් වහන්සේලා







රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# මහා කාරුණිකයාණෝ...

දිව කුරු බුදුන් දැක විවරණ ලැබුව　　දින
නිසි යුරු හිමි වුවද භව දුක නසන　　පින
පිවි තුරු පැතුම ලෙද සත ගොඩ දමන　　මෙන
වත පිරූ වගයි හිමි බුදු බව පිණිස　　වන

සත භව දුකෙන් මුදවන අදිටන　　හමුවේ
අත ළඟ තිබු නිවන එපරිදි හැර　　දැමුවේ
ගත සිත දහමටයි හැම විට කැප　　කෙරුවේ
දත යුතු බණ දහම දැන බුදු බව　　පැතුවේ

සාරා සැකි කපක් එපරිදි පෙරුම්　　පිරූ
පීරා සසර සැප දුක සම සිතින්　　දැරූ
මායා බිසව කුස පිළිසිඳ ගුණෙන්　　සරූ
පායා එන සඳසෙ බැබළුනි පිනෙන්　　ගරූ

දරු පෙම මහත් වුව රාහුල පුතු දිනු　　දා
රජ කම යස ඉසුරු හැම සම්පත හැර　　දා
සැනසුම සොයා කුමරිඳු තපසට ගිය　　දා
නිවනම එකම අරමුණ විය මරු පර　　දා

සව් සත කෙරෙහි හිත සුව යහපත　　පිණිස
අව් වැසි ගැහැට මැද විඳ සා දුක　　පවස
සෙව් දුක නසන අරි මග නොතැකුව　　වෙහෙස
සිව් සස් දහම දිසි දැන දිවියෙහි　　අනිස

එලෙසයි මරුන් පරදා බුදු බව　　ලැබුවේ
දහමයි නිමල සත හට බුදු හිමි　　දෙසුවේ
නිවනයි උරුම වනු සිරි සදහම　　හමුවේ
විසුමයි ඇවැසි එපරිදි භව දුක　　නිමවේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# නිවන් මගේ පැටළුනු තැන්... 02 කොටස

**පසුගිය කලාපයෙන් - අසූ හාර දහසක් ධර්මස්කන්ධය තුලින් එකම නිවනට පැමිණිය හැක.**



මේ වෙනකොට නිවන් මග හොයමින් විවිධ බණ භාවනා කරන පිංවතුන්ට තියෙන දහම් ගැටළු කිහිපයක් තමයි මේ විසඳල දෙන්න උත්සාහ කරන්නෙ. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් අත්දැකීම් සහිතව කරන ලද විග්‍රහයකින් තමයි මේ කරුණු සටහන් කරන්නෙ.

සමථ භාවනාව සඳහා ආනාපාන සතිය වැඩිය යුතුයි, ඉන්පසු විදර්ශනා වැඩිය යුතුයි කියන්නෙ මේ කාලයේ නිතර අහන්න ලැබෙන ක්‍රමවේදයක්. ඒකත් බොරුවක් නෙවෙයි. ලෞකික සමථයට සීමා වෙච්ච ආනාපාන සති භාවනාව බුද්ධ කාලයට පෙරත් පැවතුනා. ඒ භාවනා වඩපු අයට විදර්ශනා භාවනා වගේම ධර්මාවබෝධයට විශේෂ හේතු වාසනාත් තිබුන නිසා, දහම් අවබෝධයට සුදුසු පිරිස බලන බුදු පියාණන් වහන්සේ පළමුවෙන්ම සිහි කළේ නේවසංඥානාසංඥායතන සමාධිය ලබල හිටපු උද්දකරාමපුත්ත ගැන. ඊළඟට ආවර්ජනා කළේ ආකිංචඤ්ඤායතන සමාධිය ලබල හිටපු ආලාරකාලාම ගැන.

ඒ නිසා බෞද්ධයොත් තමන්ට පුළුවන් බව පේනව නම් එහෙම වඩල හිටියට කමක් නෑ. සසරේ සමථ භාවනා වඩල තියේ නම්, ඒ පුරුද්ද නිසා ගිහි වතේ හිටියත් මේ ලෞකික දහැන් වැඩෙනවා. **ධ්‍යානවලට සම වදින්න හැකියාව පුරුදු කරගත්තට පස්සෙ පංච නීවරණ විශේෂයෙන් යටපත් වෙනවා. එතකොට විදර්ශනාව වඩන්න ඉතා හොඳ පසුතලයක් හැදිල ධර්මාවබෝධයට මග පැදෙනවා.** ඒ නිසා ඒ මග අනුගමනය කිරීමත් නිවන් මගක්මයි. කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලබල තවදුරටත් ක්‍රමානුකූල කරගත්තම ඉතා විශිෂ්ට ප්‍රතිඵල ලැබෙන්න පුළුවන්.

බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන්න ආනාපාන සති භාවනාව සමථ විදර්ශනා යුගනද්ධව වැඩෙන ක්‍රමයක් වගේම, ඒ ක්‍රමයේ සතර සතිපට්ඨාන මාර්ගයත් තියෙනවා. සං. නි. 5 (2) - 118 පිටුවේ එන <u>ආනන්ද සූත්‍රයේ</u>, ආනන්ද හිමියන් අහපු ප්‍රශ්නයකට බුදුන් වහන්සේ මේ විදිහට පිළිතුරු දීල තියෙනවා.

ආනාපානසති සමාධිය නම් වූ එක් දහම වඩන ලද්දේ සිව් දහම නම් වූ සතර සතිපට්ඨානය පුරවත්. සතර දහමක් වඩන ලද්දේ සත් දහමක් හෙවත් සත්ත බොජ්ජංග ධර්ම පුරවත්. සත්ත බොජ්ජංග ධර්ම නම් වූ සත් දහම පුරන ලද්දේ දෙදහමක් නම් වූ විජ්ජා විමුක්ති පුරවත්.

මේ පිළිබඳව දීර්ඝ විස්තරයක් මේ සූත්‍රයේ සඳහන් වෙනවා. "දීඝංවා අස්ස සන්තෝ" කියන තැන පටන් "පස්සං භයං කාය සංඛාරං පස්ස සිස්සාමීති සික්ඛති" කියන තැනට එනකල් අස්ස සාස පස්ස සාස කාණ්ඩ 4 ක් කායානුපස්සනා සතිපට්ඨානයටත්, "පීති සංවේදි අස්ස සිස්සාමීති සික්ඛති" කියන තැන පටන් "පස්සං භයං චිත්ත සංඛාරං පස්ස සිස්සාමීති සික්ඛති" කියන අස්ස සාස පස්ස සාස කාණ්ඩ 4 වේදනානු පස්සනා සති පට්ඨානයටත්, "චිත්ත පටි සංවේදි අස්ස සිස්සාමීති සික්ඛති" කියන තැන පටන් "විමෝචයං චිත්තං පස්ස සිස්සාමීති සික්ඛති" කියන අස්ස සාස පස්ස සාස කාණ්ඩ 4 චිත්තානු පස්සනා සති පට්ඨානයටත් "අනිච්චානු පස්සී අස්ස සිස්සාමීති සික්ඛති" කියන තැන පටන් "පටි නිස්සග්ගානු පස්සී පස්ස සිස්සාමීති සික්ඛති" කියන තැනට එනකල් අස්ස සාස පස්ස සාස කාණ්ඩ 4 ධම්මානුපස්සනා සතිපට්ඨානයටත් වශයෙන් ආනාපාන සති භාවනාවේ අංග 16 තුලින් අරිහත්වයටම පත්වෙන්න පූර්ණ මාර්ගය දේශනා කරල තියෙනවා.

ඒ වගේම විවේක නිශ්‍රිත (විවේකය සහිත), විරාග නිශ්‍රිත (විරාග සහිත හෙවත් රාග රහිත), නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී (නිවනට නැමී සිටින) කියන හතර ආකාරයෙන් මේ ආනාපාන සතිය වැඩිය යුතු ආකාරයත් ඒ සූත්‍රයේ පෙන්වා තියෙනවා. බුදු පියාණන් වහන්සේ දේශනා කළ ආනාපාන සති භාවනාව මේ විදිහට අරිහත්වය කෙළවර කරල තියෙද්දි, ආනාපාන සති භාවනාව සමථය සඳහා සීමා කරල මේ කාලයේ උගන්වන ක්‍රමවේදය බෞද්ධ ක්‍රමයද කියල හිතල බැලීම වටිනවා.

ඒ වගේම ලෞකික යෝගී භාවනා ක්‍රම බොහෝ විට පද්මාසන ආදී ඉඳගෙන කරන භාවනා මූලිකව සිද්ධ කෙරෙනවා. නමුත් ආර්ය ධර්මය තුල සතර ඉරියව්වම භාවනාවට යොදා ගැනෙනවා. **සමාපත්ති සහ සමාධි කියන වචනවලත් වෙනසක් තියෙනවා.** සමාපත්තියේදි පූර්ණ මනෝද්වාරය ක්‍රියාත්මක වෙනවා. හැබැයි ඒ විදිහට සමාපත්තියට සම වදින්න නම් සෑහෙන්න ප්‍රගුණතාවයක් ලබල තියෙන්න ඕන. සසරේ ආසන්න අත්බැව්වල වඩල ප්‍රගුණතාවය

තිබිච්ච අයට ඒ හුරු පුරුද්ද නිසා සමාපත්තියට සමවදින්න පුළුවන් වෙනවා. ධ්‍යාන චිත්ත වීතිය පූර්ණ මනෝද්වාරිකයි. නමුත් අතරින් පතර චිත්ත වීති කැඩෙමින් පංචද්වාර චිත්ත වීතිත් පහල වෙනකොට තියෙන්නෙ සමාධිය විතරයි. එතකොට තමයි ධ්‍යාන සමාධියෙදි බාහිර ශබ්ද ආදිය ඇහෙන්නෙ. භාවනා කරනකොට නින්ද ගියත් නොවැටෙන විදිහෙ පහසු ආසනයක ඉඳගෙන භාවනා කිරීමෙනුත් සමාධියට පත්වෙන්න පුළුවන්.

**යටි බඩ, තුනටිය, කකුල්... ආදියේ මාංශ පේශි හිරවීම විවිධ හේතූන් නිසා සිද්ධ වෙන්න පුළුවන්. එහෙම වුනාම එරමිණිය ගොතාගෙන වාඩිවීම අපහසු වෙන්න පුළුවන් වගේම, ශාරීරික වේදනා ඇතිවෙනකොටත් සමාධියට බාධා වෙන්න පුළුවන්. ඒ නිසා පහසු ඉරියව්වක් පුරුදු කරගත්තට බාධාවක් නෙවෙයි.**

පංච නීවරණ ධර්ම යටපත් කරගන්න සහ සංසිඳවගන්න අනාර්ය වූ ලෞකික භාවනා කරන අය විවිධ උපක්‍රම භාවිතා කරනවා. බොහෝ විට ඒ අය කරන්නෙ පංච කාම අරමුණුවලින් පැනල ගිහින් වනගත වීම. සමහරු විවිධ ව්‍යායාම් ක්‍රමත් භාවිතා කරනවා. නමුත් ආර්ය ක්‍රමය නම්, සියල්ල හෙවත් ලෝකය ස්කන්ධ, ධාතු, ආයතන, පටිච්ච සමුප්පාද... ආදී තමන්ට වැටහෙන ක්‍රමයකින් කොටස් කරල අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් වචනාර්ථ හරියට තේරුම් අරගෙන නිතර මෙනෙහි කිරීම. එතකොට කාමයන්ට හිතකර වස්තු කෙරෙහි නොබැඳීම, නොඇලීම, මිදීම ක්‍රමයෙන් සිද්ධ වෙමින් කාමච්ඡන්දය තදංග (ඛණ අහන මොහොතක තාවකාලිකව යටපත් වීම), විෂ්කම්භන (ධ්‍යාන), සමුච්ඡේද (මගඵල) යන ආකාරයට සංසිඳෙනවා. එතකොට ව්‍යාපාද, ථීන මිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡා කියන ඉතිරි නීවරණ 4 ත් දුරු වෙලා යනවා. ඒ නිදහස් මානසිකත්වය සිහි කරනකොට නිවී සැනසුන චිත්ත ස්වභාවය දැනෙන්න පටන් ගන්නවා. මේක විවේක නිශ්‍රිතයි, විරාග නිශ්‍රිතයි, නිරෝධ නිශ්‍රිතයි, වොස්සග්ග පරිනාමියි. මේ ශාන්තිය අරමුණු කරගෙන ඉන්නකොට කායික, මානසික සංසිඳීම සිද්ධ වෙන්න පටන් ගන්නවා.

පෙර නිතර සිතට නැගුන රාග, ද්වේශ, මෝහ අරමුණු නිසා ඇතිවෙච්ච කායික දාහය සංසිඳවන්න තිබිච්ච උපක්‍රමයක් තමයි ප්‍රබල ලෙස ආස්වාස ප්‍රස්වාස කිරීම. මේක අපට නිතර සිද්ධ වෙන දෙයක් නිසා ලොකු අසහනයක් බව නොදැනුනත්, මනස ඇසුරු කරපු රාග, ද්වේශ, මෝහ අරමුණු පහවෙනකොට, එහෙම නැත්නම් ඒවායේ ඇසුර පහවීම නිසා මනස නිවී සැනසෙන තත්ත්වයකට පත්වෙනවා.

ඒක එහෙම වෙන්න නම් හිතෙන්, කයෙන්, වචනයෙන් එතෙක් සිද්ධ කරගෙන ආ ලෝභ, ද්වේශ, මෝහයන්ගේ ආදීනව අනිච්ච, දුක්ඛ, අනත්ත විදිහට බලමින්, ලෝකයේ ඇලීම් කරපු දේවල් පිළිබඳව ඡන්දරාගය ඉවත් වෙනකොට ඇතිවෙන ශාන්ත ප්‍රණීත නිවී සැනසීමේ ආනිසංස සිහි කරන ධර්මාස්වාදය ඇසුරු කරමින්, එහෙම නැත්නම් ඒ ධර්මය අස්ස සාස කරමින් මිච්ඡා අටමග පස්ස සාස කරන්න ඕන. ඒ කියන්නෙ පහ කරන්න ඕන.

කයට තිබිච්ච වෙහෙස උපක්‍රමශීලීව ප්‍රස්වාස කිරීම් වශයෙන් වාතයත් ප්‍රස්වාස කරන්න ඕන. මේ විදිහට ප්‍රබෝධ මනස ඇතිවෙන්නෙ බෞද්ධ ක්‍රමවේදය මගින්ම නිසා, ඒක ප්‍රගුණ නොකර කරන වාත ආස්වාස ප්‍රස්වාසය අනාර්ය භාවනාවක් වෙනවා.

ම. නි. (1) 643 පිටුවේ එන <u>මහා අස්සපුර සූත්‍රයේ,</u> නීවරණ පහ කරනකොට ඇතිවෙන නිදහසට නිදර්ශන පෙන්වා තියෙනවා. නීවරණ 5 දුරුවීම උපමා විදිහට ණයකින්, රෝගයකින්, බන්ධනාගාරයකින්, දාස භාවයකින්, කාන්තාර ගමනකින් කියන මේ කරුණු පහකින් එතෙර වෙච්ච කෙනෙකුට, පෙර මම මේ විදිහට පස් ආකාරයකින් පෙළුනා, මහා දුකක් වින්දා, දැන් නිදහස් කියල හිතෙනව වගේ නීවරණ සමථ වීමේ සුව දැනෙන හැටි පෙන්වා තියෙනවා.

ඒ වගේම <u>චූල අස්සපුර සූත්‍රයේ</u> 659 පිටුවේ මේ පංච නීවරණ නම් වූ ළාමක අකුසල්වලින් විසුද්ධ වුනාම ප්‍රමෝදය උපදින බවත්, ප්‍රමුදිතයාට ප්‍රීතියත්, ඒ නිසා ගත සිත සැහැල්ලුවත්, සැහැල්ලුව නිසා සුඛයත්, සුඛය නිසා සමාධියත් ගෙන දෙන බව සඳහන් වෙනවා.

ඒ වගේම අංගු. නි. (6) 586 පිටුවේ එන <u>න චේතනා කරණීය සූත්‍රයෙත්</u> මේ විදිහට සිද්ධ වෙන ආකාරය සහ ඒක ධර්මතාවයක් බවත්, අමුතුවෙන් හිතල කළ යුත්තක් නැති බවත් පෙන්වා තියෙනවා.

ඉහත කී මහා අස්සපුර සූත්‍රයේ 643 පිටුවේ, **ධ්‍යාන ලැබුනම එක එක ධ්‍යානය වැටහෙන ආකාරය උපමාවලින් පෙන්වා තියෙනවා. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට මේ සම්බන්ධයෙන් අත්දැකීම් තිබුන නිසාම ඒවා ඉතාම ගැලපෙන උපමා බවත් සඳහන් කරනවා.**

ප්‍රථම ධ්‍යානයට පත් වුනාම කයේ ඇතිවෙන ස්වභාවයට බුදු පියාණන් වහන්සේ මේ විදිහට උපමාවක් පෙන්වනවා. අද අපි කුණු සෝදා හරින්න සබන් භාවිතා කරනවා වගේ ඒ කාලයේ ගොම, මැටි, සුවඳ වර්ග... ආදිය මිශ්‍ර කරල ගලක තියල අඹරගෙන වතුර මිශ්‍ර කරල ගුලියක් හදාගන්නවා. මේ විදිහට හදාගත්ත ගුලිය තුල වතුරෙන් තෙමිච්ච නැති තැනක් නෑ. හැම තැනම තෙත් වෙලා තියෙනව වගේම වතුර පිටතට ගලා යන්නෙත් නෑ. මේ මස් ලේ කය ඒ සුවඳ ගුලිය නම් ප්‍රීතිය, සුඛය නමැති ජලයෙන් හැම තැනම තෙත් වෙලා තියෙනවා. ඒ ප්‍රීතිය සුඛය ගැවසී නොගත් එකම තැනක්වත් නැති විදිහට මේ කරජ කය සුව පිඩක් කරගෙන ඉන්නවා. මේ තමයි පළවෙනි දැහැන වැටහෙන ආකාරය. පළවෙනි දැහැන අත් දැකල තියෙනව නම් මේ විදිහට වැටහෙන්න ඕන.

මේ ස්වභාවය ප්‍රථම ධ්‍යාන සමාපත්තියෙදි උපරිම ලෙස වැටහෙනවා. ධ්‍යාන චිත්ත වීති කඩින් කඩ ඇතිවෙමින් අතරට පංචද්වාර චිත්ත වීති පහල වීම ධ්‍යානයේ ස්වභාවය වෙනවා. නමුත් සමාපත්තියෙදි එහෙම නෙවෙයි. පංචද්වාර චිත්ත වීති කඩින් කඩ ඇතිවෙනව නම් තමයි බාහිර ශබ්ද ආදිය ඇහෙන්නෙ. සමාපත්තියෙදි පංචද්වාර චිත්ත වීති පහල නොවී පූර්ණ මනෝද්වාර වූ ධ්‍යාන චිත්ත වීතිය දිගටම පවතිනවා. එතකොට ඉහත කියපු ප්‍රීති සුඛ ධ්‍යානාංගයන් උපරිමව දැනෙනවා. ඉතිරි ධ්‍යාන සහ සමාපත්තිත් මේ විදිහම බව දැන ගන්න ඕන. අතරින් පතර පංච ද්වාර චිත්ත වීති පහළ වෙන්නෙ රූපාවචර ධ්‍යානවලදි විතරයි. ආකාසානංචායතන ආදී අරූප සමාපත්තිවලදි පූර්ණ මනෝද්වාර චිත්ත වීති පමණක් ක්‍රියාත්මක වෙන නිසා, ඒ අවස්ථාවල කිසිම බාහිර ඇසීම්, දැනීම් නෑ.

ද්විතීය ධ්‍යානයෙදි විතර්ක විචාර නවතිනවා. ප්‍රීතිය සුඛය උපරිමයට නැගිල නිශ්චලව පිහිටි විදිහට දැනෙනවා. මේකට උපමාව දීල තියෙන්නෙ මෙහෙමයි. මහ වැසි

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

10 වන කොටස



## සංයුක්ත නිකාය - 2

### විභංග සූත්‍රය - 5 පිටුව

කර්ම ඵලයක් ලෙස ආරම්භ වූ අත්බැව ජරා මරණයෙන් අවසන් වනතුරු පටිච්ච සමුප්පාද පද විග්‍රහ කර ඇත.

### විපස්සී සූත්‍රය - 9 පිටුව

විපස්සී බෝසතාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය ඥානයෙන්ද, යෝනිසෝ මනසිකාරයෙන්ද දැක අවබෝධ කළ අයුරු දැක්වේ.

### ධම්මකථික සූත්‍රය - 29 පිටුව

එක්තරා භික්ෂුවක් බුදු රජුන්ගෙන්, ධම්ම කථික ධම්ම කථික යැයි කියන්නේ ඇයි දැයි ඇසීය. ජරා මරණ දෙකෙහි කලකිරීමට, මිදීමට දහම් දෙසයි නම් ධම්ම කථික වේ. ඒ මග පිළිපදී නම් ධම්මානුධම්ම පටිපන්න වේ. ජරා මරණ දෙකෙහි තතු දැන නොබැඳී නොඇලී මිදීම වේ නම්, මේ අත්බැව්හිම නිබ්බානයට පත් වූවාහු වෙති. මෙසේ ජාති, භව, උපාදාන... ආදී දොළොස් අංග ගැනම විස්තර කර ඇත.

### අචේල කස්සප සූත්‍රය - 31 පිටුව

අචේල කස්සප පිරිවැජියා බුදු රජුන්ගෙන් ප්‍රශ්න කිහිපයක් ඇසීය. දුක තමා විසින්, මෙරමා (අන්‍යයන්) විසින්, නැත්නම් ආකාස්මිකව (ඉබේ) වේ දැයි ඇසූ විට, කස්සප එසේ නොකියවයි පිළිතුරු දුනි. දුක ගැන දේශනා කරන ලෙස අචේල කස්සප ඉල්ලා සිටියේය. දුක තමා විසින් කළා කීවොත් සාස්වත දෘෂ්ටිය වේ. අනුන් විසින් කරන ලදැයි කීම උච්ඡේද දෘෂ්ටියට වැටේ. එබැවින් අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ... ආදී ලෙස දුක ගොඩනැගෙන

---

කාලයක, පොළොව දියෙන් තෙත් වෙලා තියෙන කාලයක, ඒ වැසි නැවතිලා තියෙනකොට, පොකුණක ජලය ඒකෙ ඇතුලත උල්පත් ආදියෙන් ගලාගෙන ඇවිත් කට මට්ටමට ජලය පිරිල නිශ්චලව සිටිනව වගේ, මේ කරජ කය ප්‍රීතියෙන් සුඛයෙන් පිරිල නිශ්චලව ඉන්නවා. පළවෙනි ධ්‍යානයෙදි තමන් ලබපු විවේකය ආවර්ජනය වෙනකොට තමයි රැලි නැගෙනව වගේ ප්‍රීතිය සුඛය මතු වෙන්නෙ. දෙවෙනි ධ්‍යානයෙදි එහෙම නෙවෙයි. සමාධි සුඛයම ආවර්ජනා වෙමින් තමයි ප්‍රීති සුඛ නැගී සිටින්නෙ.

තුන්වෙනි දහැන පිළිබඳව බුදු පියාණන් වහන්සේ දීල තියෙන උපමාව තමයි මේ. යම් විලක පොකුණක ඕලු, නෙළුම්, මානෙල්... ආදී මල් කැකුලක් දියෙන් මැදක් එනකල් මතුවෙලා තියෙනකොට, උඩ යට වට හැම තැනම දියෙන් වට කරල තියෙනව වගේ මුළු ශරීරය සුඛයෙන් වට කරල තියෙන හැටි දකිනවා. අත්දැකීම් තියෙන අයට මේ කාරණය මේ විදිහටම දැනෙනවා. ශරීරය හැම තැනම සුව ස්පර්ශය ඇති කරන, තමන් ඔසවාගෙන පාලනය කරන (ශරීරය ඔසවාගෙන සිටින ලෙස) ඉතා සුව සහගත විසාල කාන්දම් බෝලයකට මැදිවෙලා ඉතා නිශ්චලව ඉන්නව වගේ දැනෙනවා. ඒ වගේම කයත් හඳ එළිය වගේ ආලෝකයකින් නිර්මිත වෙලා තියෙන විදිහට මහා සැහැල්ලුවකින් වැටහෙනවා. මෙතනදිත් ධ්‍යානයට වඩා සමාපත්ති අවස්ථාව ඉතා බලවත්.

හතරවෙනි ධ්‍යානය වැටහෙන හැටි බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මේ විදිහට. හිසේ පටන් දෙපතුලට සුදු රෙද්දකින් වැහුවම අඟ පසඟ නොපෙනී සුදු රෙද්දම පේනව වගේ කය පිළිබඳව වැටහෙනවා. අත්දැකීම් තියෙනව නම් ඉතා ඉහලක සුදු එළිය තියෙන, අඟ පසඟ හිතල බැලුවත් වෙන වෙනම නොපෙනෙන මිනිස් කයක උස සහ වට ප්‍රමාණ තියෙන ටියුබ් ලයිට් එකක් වගේ එළි කඳක් විදිහට වැටහෙනවා. මේ විදිහට වැටහෙන්නෙ චතුර්ථ ධ්‍යාන සමාපත්තියෙදි. ධ්‍යානයෙදි නම් සුදු පාටට ඒ වගේ පේනවා. ඒ වගේම ධ්‍යානයෙදි ඉතා තැන්පත් නිශ්චල ස්වභාවයක් තිබුනත්, හිත විසිරිලා හරි හඬ එන පැත්තට යොමු නොවුනත්, ශබ්දය ආදිය ඇහෙනවා. ශබ්ද ආදිය ඇහෙනව මිසක් ඇහෙන පැත්ත යොමු වෙන්නෙ නෑ. සමාපත්තියෙදි තමන් හැටියට එකම එළි කඳක් ඉහල අහසක ඉතා නිශ්චලව තියෙනව වගේ දැනෙනවා. ඒ වගේම ප්‍රණීත අන්දමින් වැඩිල තියෙනව නම්, කිසිම ද්‍රව්‍ය වස්තුවක් නැති ධ්‍යාන ආකාසයත් පේනවා. පසුව ආකාසානංචායතනයට අරමුණු වෙලා හිටින්නෙ ඒ ආකාසය.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

හැටිත්, අවිජ්ජා යත් ත්වේව අසේස විරාග නිරෝධා සංඛාර නිරෝධෝ... ආදී ලෙස දුක් නැතිවන අයුරුත් දේශනා කර ඇත. අචේල කස්සප සසුනේ පැවිදිව අරිහත්වයට පත්විය.

## හීනාධිමුත්තික සූත්‍රය - 241 පිටුව

අදහස්වල ස්වභාවය අනුව සත්ත්වයෝ එක් වෙති. ලාමක අදහස් ඇත්තවුන් ලාමක අදහස් ඇත්තවුන් සමගද, කල්‍යාණ අදහස් ඇත්තවුන් කල්‍යාණ අදහස් ඇත්තවුන් සමගද එක් වේ.

## චංකම සූත්‍රය - 243 පිටුව

අදහස් අනුව භික්ෂූන්ගේ එක්වීම බුදුන් වහන්සේ මෙහිදී පෙන්වා ඇත. මූලික තෙරවරුන් සමග ඒ ඒ තැන්වල සක්මන් කරන භික්ෂූන් පෙන්වා, මහණෙනියි අමතා, සැරියුත් තෙරුන් ළඟ සක්මන් කරන භික්ෂූන් මහා ප්‍රාඥ බවත්, මුගලන් තෙරුන් ළඟ එකතු වී සිටින භික්ෂූන් ඍද්ධි බල ඇති අය බවත්, කාශ්‍යප තෙරුන් ළඟ සිටින භික්ෂූන් ධූතාංග ධාරී බවත්, අනුරුද්ධ තෙරුන් ළඟ සිටින භික්ෂූන් දිවැස් ලාභීන් බවත්, මන්තානිපුත්ත තෙරුන් ළඟ සිටින භික්ෂූන් ධර්ම කථිකයන් බවත්, උපාලි තෙරුන් ළඟ සිටින භික්ෂූන් විනයධර බවත්, ආනන්ද තෙරුන් ළඟ සිටින භික්ෂූන් බහුශ්‍රැත බවත්, දෙව්දත් තෙරුන් ළඟ සිටින භික්ෂූන් පාපී බවත් පවසා මෙසේ අදහස් අනුව සැසඳෙන, එකතු වෙන අයුරු පෙන්වා ඇත. ගති ආකර්ශන මූලධර්මයෙන් පෙන්වන්නෙත් මේ කියන කාරණය. එනම්, සමාන දේ සමාන දේට එකතු වීම.

## නෝචේදං සූත්‍රය - 269 පිටුව

ආපෝ ධාතුවෙහි, තේජෝ ධාතුවෙහි, වායෝ ධාතුවෙහි, පඨවි ධාතුවෙහි යම් සුඛ ස්වභාවයක් හෙවත් ආස්වාදයක් නොවී නම් සත්ත්වයෝ නොඇලෙති. ඇති නිසාම ඇලෙති. ආදීනවයක් නොවී නම් ඇලෙති. ආදීනවයක් ඇති නිසාම නොඇලෙති, මිදෙති. නිස්සරණයක් නොවී නම් නොනික්මෙති. නිස්සරණයක් ඇති නිසාම නික්මෙති.

## දුක්ඛ ලක්ඛණ සූත්‍රය - 271 පිටුව

මේ ධාතු 4 ඒකාන්තයෙන් දුක් වූවක්, දුකෙහි පතිත වූවක්, දුකෙහි වැදගත්තක්, සුවයෙහි නොවැදගත්තක් වී නම් සත්ත්වයෝ ඒවායේ නොඇලෙති. යම් හෙයකින් මේ ධාතු සුඛ නම්, සුඛාවර්ථ නම්, දුක්ඛාවර්ථ නොවූවක් නම් සත්ත්වයෝ එහි ඇලෙති. ඒවා ඒකාන්තයෙන්ම සුඛාවර්ථ වී නම් එහි නොකලකිරෙති. දුකක් ඇති නිසාම නුවණින් මෙනෙහි කර දුටු විට එහි නොඇලෙති.

## තිණකට්ඨ සූත්‍රය - 277 පිටුව

“අනමතග්ගෝයං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති” යනුවෙන් දේශනා කර, ඒ ස්වභාවය පෙන්වමින්, යමෙක් දඹදිව් තලයෙහි ඇති ගස් වැල්, තණ දඬු, අතු කොළ... ආදිය සිව් අඟල් වන්නට කැබලි කර තම මව් පරපුර හෝ පිය පරපුර හෝ සිහි කොට, මේ කැබැල්ල මව වෙනුවෙන්, මේ කැබැල්ල ඇයගේ මව වෙනුවෙන්... ආදී වශයෙන් වෙන් කළොත්, කැබලි අවසන් වන නමුත් මව් පිය පරපුර අවසන් නොවී තවත් ඇතට දිවෙන බවත්, ඒ කවර හෙයින්ද යත්, අවිද්‍යාවෙන් වැසුනු තෘෂ්ණා සංයෝජනයෙන් බැඳුනු සත්ත්වයාගේ පූර්වාන්තය නොපැනේ යැයි කළ දේශනාව ඇත.

## අස්සු සූත්‍රය - 279 පිටුව

පෙර ලෙසට මූල විග්‍රහය කර උපමා පෙන්වා ඇත. අප්‍රියයන් සමග එක්වීමෙන් සහ ප්‍රියයන්ගෙන් වෙන්වීමෙන් දුක් වී හැඬූ කඳුළු සිව් මහා සාගර ජලයට වඩා වැඩිය. එසේම පියා, බෑයා, බුහුන, පුතා, දුව, ඥාති ව්‍යසන, භෝග ව්‍යසන... ආදී ව්‍යසනවලින් මෙන්ම අප්‍රියයන් සමග එකතු වීම, ප්‍රියයන්ගෙන් වෙන්වීම ආදියෙන් දුක් දාහ සහගතව වැගිරූ කඳුළු වෙන වෙනම බැලුවත් සිව් මහා සාගරවල ජලයට වඩා වැඩිය. අනමතග්ගෝයං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති යනුවෙන් පෙන්වූ බුදු වදන පරිදි, මෙසේ අනන්ත දුක් විඳගෙන එන, කිසිදා නොලැබෙන සාරත්වයක් සොයමින් එන අසාර වූ භව ගමන පෙන්වා ඇත.

## පබ්බත සූත්‍රය - 281 පිටුව

එක්තරා භික්ෂුවක් කල්පය කොතෙක් දිග දැයි ප්‍රශ්නයක් බුදු රජුන්ගෙන් අසන ලදී. වසර ගණනින් කිව නොහැකි බව දේශනා කර උපමාවක් පවසන ලදී. යොදුනක් දිග, පළල, උස පර්වතයක් කසී සළුවකින් සිය වසරකට වරක් පිස දමුවොත්, ඒ හේතුවෙන් පර්වතය ගෙවී කෙළවර වෙන්න යන කාලයටත් වඩා කල්පය වැඩි බව දේශනා කර ඇත.

## සාසප සූත්‍රය - 283 පිටුව

මෙබඳුම උපමාවක් පෙන්වා යොදුනක් දිග, පළල, උස යකඩ පවුරකින් වටවූ කුහරයක අබ පුරවා සිය වසකට වරක් අබ ඇටය බැගින් ඉවත් කරයි නම්, ඒ හේතුවෙන් අබ ඇට ඉවත් වෙන්න යන කාලයටත් වඩා කල්පය දිග බව පෙන්වා ඇත.

## ඒක පුග්ගල සූත්‍රය - 287 පිටුව

එක කල්පයකදී එක සත්ත්වයෙක් මියගිය වාරවල ඇට සැකිලි (දිවෙන සැරිසරන කෙනෙකුගේ) ගොඩගැසුවේ නම්, නොදිරා තිබුනේ නම්, වේපුල්ල පර්වතය තරම් මහත් බව පෙන්වා ඇත.

## දුග්ගත සූත්‍රය - 289 පිටුව

අනාදි සසරේ සැරිසරන අය දුක් විඳින විරූපී කෙනෙක් දුටුවේ නම්, මමද අනන්ත සසරේ මෙබඳු වී ඇතැයි නිශ්චයට ගත යුතු යැයි පෙන්වයි.

## සුඛිත සූත්‍රය - 289 පිටුව

සුවපත් වූ අලංකාරයෙන් සැදුන යමෙක් දුටුවේ නම්, මමද සසර මෙබන්දෙක් වී ඇතැයි නිශ්චයට යා යුතුය. එනම්, ඒ දිවියද ගෙවී වැනසී යන අනිච්ච, දුක්ඛ, අනත්ත එකක් බව දැකිය යුතුය.

## තිංසමත්ත සූත්‍රය - 289 පිටුව

ආරණ්‍ය, පිණ්ඩපාතික, පාංශුකූලික, තෙචීවරික වූ භික්ෂූන් 30 නමක් බුදු රජුන් දැකීමට පැමිණි විටෙක, ඒ සියල්ලෝ සංයෝජන සහිත බව දැන, උපාදාන රහිතව මිදීමට කළ දේශනාවක් ඇත.

“අනමතග්ගෝයං...” විස්තර කර, මේ සසරෙහි තොපගේ හිස් සුන් කළ අවස්ථාවල සිරුරුවලින් ගැලූ ලේ කොපමණ දැයි අසා, සිව් මහා සයුරු ජලයටත් වැඩි බව පෙන්වීය. එසේම ගව, මහීස, එළු, බැටළු, මුව, ඌරු, කුකුල්... ආදීන්ව වෙන් වෙන්ව හිස් ගැසුම් කා ගැලූ ලෙය වැඩිය. දිගු කලක් මංපහරන සොරුන් වී, එසේම පරවුන් සේවනය කළේ යැයි හිස් ගැසුම් කා ගැලූ ලේද සිව් මහා සයුරු ජලයට වැඩි යැයි පෙන්වා ඇත. මේ ධර්ම විභංගය දෙසන විට අසා සිටි 30 නමක් පමණ වූ භික්ෂූන් සිත් උපාදාන හැර නිදහස් වූ බව සඳහන් වේ.

**මාතු සූත්‍රය - 291 පිටුව**

මේ සසරේදී තව සතෙකුට මව් නොවූ සතෙක් සුලභ නොවේ යැයි පෙන්වා ඇත. මේ ආකාරයටම පීතු සූත්‍රය, භාතු සූත්‍රය, භගිනි සූත්‍රය, පුත්ත සූත්‍රය, ධීතු සූත්‍රය යන සූත්‍රවලින් පිය නොවූ සතෙක්, ස්වාමියා නොවූ සතෙක්, බිරිඳ නොවූ සතෙක්, පුතෙකු නොවූ සතෙක්, දුවෙකු නොවූ සතෙක්... සුලභ නොවේ යනුවෙන් පෙන්වා ඇත.

**වේපුල්ලපබ්බත සූත්‍රය - 293 පිටුව**

මෙකල වේපුල්ල පර්වතයට මුලින් කකුසඳ, කෝණාගම, කාශ්‍යප යන මේ බුදුවරයන් වහන්සේලාගේ කාලවලදී භාවිතා කළ නම් සහ මිනිසුන්ට ව්‍යවහාර කළ නම්ද, අගසව් නම්ද විස්තර කර, මිනිස් ආයුස ආදියත් පෙන්වා, අතීත නම් ගොත්, වස්තු වෙනස් වූ අයුරුත්, දැන් වෙනස් වන අයුරුත් පෙන්වා, එබැවින් සියලු සංඛාර අනිච්ච, අද්ධුව, අනස්සාසික බවත්, අත්හැරෙන්න නොඇලෙන්න මිදෙන්න සුදුසු බවත් පෙන්වා අනිච්චාවත සංඛාරා ගාථාවත් දේශනා කර ඇත.

**ධ්‍යානාභිඥා සූත්‍රය - 321 පිටුව**

බුදුන් වහන්සේ තමන් වහන්සේ සම වදින දැහැන් ගැන කියන විට, කාමයන්ගෙන් වෙන්ව, අකුසලයන්ගෙන් වෙන්ව, සවිතක්ක... ආදී ලෙස සම වදින බව දේශනා කර ඇත. මෙහිදී නව අනුපූර්ව සමාපත්තිය ගැන දේශනා කරමින් යම් තාක් ඒ සමාපත්තිවලින් වාසය කරම්ද, එසේම කාශ්‍යප හිමිද වාසය කරන බව කියා පසසා ඇත.

**රූපියපාති සූත්‍රය - 355 පිටුව**

රන් සුනු පිරුනු රිදී තැලියක් ලබන්න මුසා නොකියන කෙනෙක්, සිතින් සිත පිරිසිඳ දකින බුදු පියාණන් වහන්සේට පසු කලෙක ලාභ, කීර්ති, ප්‍රසංසා නිසා දූෂිත වූ හෙතෙම දකින්න ලැබෙන බව පෙන්වා ඇත. ලාභ, කීර්ති, ප්‍රසංසා මෙසේ දරුණු බවත්, ඒවායේ නොඇලිය යුතු බවත් පෙන්වා ඇත.

**අසීසක සූත්‍රය - 401 පිටුව**

හිස නැති කයක් ඇති සිරුරු ලබන අත්බැවක් පෙන්වයි. කඳෙහි මුව සහ ඇස් පිහිටා ඇත.

**ඔක්ඛාසත සූත්‍රය - 409 පිටුව**

උදේ, දවල්, සවස බත් සැලි 100 බැගින් යමෙක් දන් දෙයි නම්, ඊට වඩා යමෙක් උදේ, දවල්, රාත්‍රී දෙනකගේ කිරි බුරුල්ලෙන් වරක් කිරි පිහිරක් දොවන තරම් මොහොතක් මෙත් සිත වඩන්නේ නම් එය මහත් ඵල ඇති බව පෙන්වයි.

**සත්ති සූත්‍රය - 411 පිටුව**

තියුනු තල ඇති ආයුධයක තලයෙන් අල්ලා දිග හරින්න, හකුළුවන්න දුෂ්කර මෙන්, අරි මෙත් සිත වඩන කෙනෙකුගේ සිත වික්ෂිප්ත කරන්න අමනුස්සයින්ට නොහැකි බව පෙන්වා ඇත.

**ආණී සූත්‍රය - 413 පිටුව**

අනාගතයෙහි කවීන් විසින් ගොතන ලද විසිතුරු පද ව්‍යංජන ඇති, සාසනයෙන් පිටත සව්වන්ගේ සූත්‍රාන්ත අසන්න මිනිසුන් කැමති වන බවත්, ගැඹුරු නිර්වාන ධර්මය දෙන සූත්‍රාන්තයන් ඒ නිසා අතුරුදන් වන බවත් පෙන්වයි. (මේ කාරණයේ සත්‍යතාවය වර්තමානයේම ඔප්පු වී ඇත.)

**මහානාග සූත්‍රය - 425 පිටුව**

රජගහ නුවර වේළුවනාරාමයෙහි වැඩ සිටින මුගලන් හිමි, සැවැත් නුවර ජේතවනාරාමයෙහි වැඩ සිටින බුදු පියාණන් වහන්සේ සමග දෙපස සිට, ළඟ සිටින දෙදෙනෙක් කතා කරන ලෙසින් ධර්ම කතා කළ බවත්, දිවැස් දිවකන් නුවණින් ප්‍රබල බවත් පෙන්වයි.

මෙහිදී සැරියුත් තෙරුන්, මුගලන් හිමියන්ගේ දිවැස දිවකන හිමාල පර්වතය නම්, තමන්ගේ දිවැස දිවකන ඒ ළඟ තිබූ ගල් කැටයක් මෙනැයි කීය. මුගලන් හිමි, තමන්ගේ ප්‍රඥාව ලුණු කැටයක් තරම් නම්, සැරියුත් හිමිගේ ප්‍රඥාව ලුණු කලයක් මෙනැයි කීය. නිහතමානීව තම ගුණ ප්‍රමාණ ප්‍රකාශ කළ උත්තමයන්ගේ කතාවක් මෙසේ විය.

**නව භික්ඛු සූත්‍රය - 429 පිටුව**

නවක භික්‍ෂුවක් පසුබත පිණ්ඩපාතයෙන් වැළකී, නිරුත්සකව නිහඬව අන් භික්‍ෂූන් සමග කටයුතුවලින් වැළකී සිටිනු දැක බුදු රඳුන්ට දන්වූ විටක ඒ ගැන විමසීමේදී තමා තමාගේ කටයුතු කරන බව කීය. එම භික්‍ෂුවගේ සිත දත් බුදුන් වහන්සේ, එම භික්‍ෂුවට අපහාස නොකරන ලෙසත්, එම භික්‍ෂුව සතර දැහැන් විපුල සේ ලබන ක්‍ෂීණාස්‍රව කෙනෙක් බවත් පෙන්වා ඇත.

**ථේරනාම සූත්‍රය - 435 පිටුව**

ථේර නම් භික්‍ෂුවක් කිසිවෙක් සමග එක්ව නොවසන එකලා බවකින් කල් ගෙවමින් එම එකලා බවෙහි ගුණද කියයි. බුදුන් වහන්සේ මේ ගැන කරුණු දක්වා එබඳු එකලාවක් ඇති බවත්, මේ ආර්ය විනයෙහි එකලාව එසේ පූර්ණ නොවන බවත් දන්වා අතීත, අනාගත පංචස්කන්ධයෙහි ඡන්ද රාගය දුරු වීමත්, වර්තමාන පංචස්කන්ධයේ නොබැඳීමත් නිසා නියම එකලාව ලැබෙන බවත් දේශනා කර ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලෝකයේ හට ගැනීම හා විනාස වීම පටිච්ච සමුප්පාදය තුළින්...

**(පසුගිය කලාපයෙන් - පටිච්ච සමුප්පාදය තුළින් නිවන් මග)**



"ජාති හේතු කොටගෙන ජරා මරණ වේ. ජාති නොවීමෙන් ජරා මරණ නොවේ."

ජාතියයි සම්මත කියල යම් තාක් දේ ඇත්ද, ඒ තාක් මොහොතින් මොහොත ගෙවි ගෙවී ගිහින් විනාසයට පත් වීම කියන ධර්මතාවය ඒ ජාති ඇසුරු කෙරෙමින් විද්‍යමාන වෙනවා. ලෝකයේ පහල වෙන සියල්ල වැනසීම අනිවාර්යයි. එහෙම වෙන්නෙ ඒ පහල වෙන ක්‍රියාවලිය ශක්තියකින් උපකාර ලබන්නෙ නැතිව සිද්ධ නොවන නිසා. ශක්තියේ මූල ධාතුවත් ද්‍රව්‍යයේ මූල ධාතුවත් අනන්තයි. මෙතෙක් කලකට පෙර නොතිබුනේය, මෙතෙක් කලකින් පසු නොවේය කියල දිවැසකින් බැලුවත් සීමා කාලයක් පේන්නෙ නෑ.

ඒ නිසා ද්‍රව්‍ය මූල ධාතු ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන ප්‍රධාන ගති 4 කිනුත්, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන ඒ සමග ආවේණික ගති 4 කිනුත් යුක්තව අතිසූක්ෂම රූප කලාප හෙවත් පරමාණු විදිහට පවතින බවත්, ඒවා කඩන්න බිඳින්න වනසන්න ලෝකයේ කිසිම උපකරණයකින් බැරි බවත්, ඒ රූප කලාප හැමවිටම ශක්ති බලයකට ගෝචර වෙලා චක්‍රාකාරව සිද්ධ වෙන ක්‍රියාවලියකින් යුක්තව, මහා බොරු මවමින් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති කියන මායා පහල කරන්න ද්‍රව්‍යමය ආධාරක විදිහට ක්‍රියා කරන බවත්, ඒ නිසා භූත හෙවත් බොරු කියන අරුත ඇතිව සසර සැරිසරන සියලු සත්ත්වයන් රවටන මායා දර්ශන හට ගන්වන නිසා මහා බොරු යැයි පනවල මේවාට මහා භූත කියල ව්‍යවහාර කරන බවත් බුද්ධ දේශනාවේ සඳහන් වෙනවා.

මේ විදිහට, අක්‍රිය වෙලා ඉන්න මොහොතක්වත් ඉඩ නොදී ඒ ඒ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති විද්‍යමාන කරන්න නවල තියෙන නිසාත්, දැනීම් ලක්ෂණය පහල කරන නිසාත්, ඒ ශක්ති විශේෂය නාම ධාතුව හෙවත් මිනුම්වල විද්‍යමාන දැනීම් වන නිසාත්, මනෝ ධාතුව කියලත් ඒ නාම ශක්තියට ව්‍යවහාර කරනවා. රූප ධාතු කියන්නෙ රූප නෙවෙයි, රූප විද්‍යමාන වන මූලයක්. ඒ වගේම මනෝ ධාතු කියන්නෙ හිත නෙවෙයි, හිත් පහල කරන මූලය.

**සත්ත්වයාට ඇලීම බැඳීම යම් තාක් ඇත්ද, ඒ තාක් අනාගත බලාපොරොත්තු පහල වෙනවා. ඉදිරි පැවැත්මට බැඳෙනකල් මේ මූල ධාතුන් පටිච්ච සමුප්පාද ධර්ම රටාවට අනුව ක්‍රියා කරනවා. මේ ක්‍රියාවලියේ මායා දර්ශනය නිසා, පවතින සත්ත්වයෙක් විදිහට පැවැත්ම විද්‍යමාන වෙනවා.** එතකොට මේ ක්‍රියාකාරී ප්‍රතිඵලය නිසා සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු විද්‍යමාන වෙනවා. මේ විද්‍යමාන වන රූප කලාප ඇහැට නොපෙනෙන පළියට ඒවා ශක්ති හෙවත් නාම කියල රැවටෙන්න සුදුසු නෑ. යමක ආකාරයක් ද්‍රව්‍ය වස්තු විදිහට විද්‍යමාන වෙනවද, මස් ඇස හෙවත් අපේ පියවි ඇසට ගෝචර වන එක කොටසක් මේ රූප කලාපයන්ගේ තියෙනවා. ඒ ඖලාරික හෙවත් ඝනත්වයෙන්, ගොරෝසු බවින් වැඩි කොටසක්. සූර්යාලෝක කිරණ කියල අපි හඳුන්වන්නෙ මස් ලේ කයට ස්පර්ශ වෙන කොටස.

**කිසිම වෙලාවක ද්‍රව්‍ය වස්තු විදිහට අපිට මස් ලේ ඇහැට පෙනෙන දේ ඇහේ ස්පර්ශ වුනා නම්, ඒ මොහොතෙම ඇහැ පොඩි පට්ටම් වෙලා යන්න ඕන. ඒ නිසා මස් ලේ ඇස ස්පර්ශ කරන්නෙ, තද බව අනුව ස්පර්ශ සංඥා ලැබීමෙදි සියුම් භාවයට පත්වෙච්ච මට්ටම්වලින් පස්වැනි කොටස. ඝනත්වයෙන් වැඩිම කොටස කාය ස්පර්ශයෙනුත්, ක්‍රමයෙන් ඝනත්වයෙන් සියුම් වන දෙවෙනි මට්ටමේ කොටස දිවෙනුත්, තුන්වන මට්ටම නාසයෙනුත්, හතර වන මට්ටම කනෙනුත්, පස්වන මට්ටම ඇසෙනුත් ස්පර්ශ කරනවා.** සූර්යාලෝකයට වඩා සියුම් වන කිරණ කොට්ඨාස (ඇල්ෆා, ලේසර්... ආදී නම්වලින් හඳුන්වන) දිවැසිනුත් දකින්න පුළුවන්, ස්පර්ශ කරන්න පුළුවන්.

මේ විදිහට රූප කලාපයන් හඳුනාගන්නා අතරෙ, වැටහීම්

විදිහට ඇසුරු කිරීමෙන් දැනගන්න ඇස් පහකුත් තියෙනවා. මස් ලේ සහිත වූ පියවි ඇස් දෙකෙන් ඇසුරු කරල (ඇස් හුරුවෙන් - ඇසුරුවෙන් - ඇසුරෙන්) දකින ඇස තමයි පළමු ඇස. ඒ තමයි මසැස. යම් ආකාර මිනුම්වලින් ඇසුරු කරල දැනගන්න තවත් මගක් තියෙනවා. ඒ තමයි මන ඇස - මනස. උපමාවක් විදිහට කියනව නම්, වායුව අතින් ස්පර්ශ කරන්න පුළුවන් ද්‍රව්‍යයක් නෙවෙයි. නමුත් පවන් ගහනකොට දැනෙනවා. යමක පීඩනයක් ඇතිවෙන විදිහට පිරවීමෙන් ඉඩක් අවශ්‍ය ද්‍රව්‍යයක් බව දැනගන්නවා. කොටසකින් ගිනි දල්වෙනවා. ඒ කොටසට ඔක්සිජන් කියල නම තියාගෙන තියෙනවා. කොටසකින් ගිනි නිවෙනවා. පරීක්ෂණවලදි ඒ කොටස ඝනත්වයෙන් වැඩි බව දැනගන්නවා. ඒ කොටසට කාබන්ඩයොක්සයිඩ් කියල නම තියාගෙන තියෙනවා. මේ කියන්නෙ මනස ඇසුරෙන් දැන ගැනීමක්. ඒ වගේම ආකාර, ලිංග, නිමිති... ආදී වශයෙන් සටහන් විදිහට මැනීමෙන් වටහා ගන්නවා. සටහන් ඇසුරෙන් මනෝ රූප විදිහටත් දැනීම මනසින් දැකීමක්. ඒක දෙවෙනි ඇසක්.

තුන්වනුව දකින ඇස තමයි දිවැස. ඒ මගින් කිරණ වර්ග, පියවි ඇසට නොපෙනෙන සූක්ෂම රූප ආදියත්, දුර ඈත සිද්ධ වෙන දේවල් ඇසට පෙනෙන විදිහට චිත්ත කිරණ ධාරා මගින් ආලෝකමත් කරල දකින්න පුළුවන්. මේ ආලෝක ධාරා ස්වයං ප්‍රභා ආලෝක ධාරා නමින් හඳුන්වනවා. ධ්‍යානවලදී ආලෝක කසිණවලට සමවැදීමෙන් පටිභාග නිමිත්තාලෝක විදිහටත් විහිදල බලන්න පුළුවන්.

මේ විදිහට රූප දකින නිසා ඕලාරික වුත්, සූක්ෂම වුත්, දුර වූත්, ළඟ වූත්, පියවි ඇසට පෙනෙන සහ පියවි ඇසට නොපෙනෙන රූපත් දකින්න පුළුවන්. ඒ වගේම දිවැසින් දකින රූපත් හැම කෙනෙකුටම එක වගේ සියුම්ව පේන්නෙ නෑ. **දිවැස් තියෙන අන්‍ය වූ මහ රහතන් වහන්සේලාටත් පේන්නෙ නැති ප්‍රේතයින් පවා හිටපු බවත්, සාක්ෂි විදිහට දැකපු තවත් අයෙක් හිටපු නැති නිසා දේශනා නොකළ බවත්, මුගලන් මහ රහතන් වහන්සේ ගිජුකූල පව්ව පාමුල ප්‍රේත රැළක් දැකල ප්‍රකාශ කරපු වෙලාවක සාක්ෂියක් තිබුන නිසා බුදුන් වහන්සේත් ඒ කාරණය දේශනා කළ බවත් ධර්මයේ සඳහන් වෙනවා.** මේ තුන්වන වර්ගයේ ඇස්වලිනුත් රූප ජාති දකින්න පුළුවන්.

මේ ජාති පිළිබඳව සත්‍ය වූ විදර්ශනා ක්‍රියා රටාව නුවණැසින් දකින්න පුළුවන්. ලොව්තුරා බුදු වදන් ඇසීමෙන් ශ්‍රාවකයන් වහන්සේලාට නුවණැස පහල වෙනවා. ඒවා අමුතු සියුම් රූප ජාතියක දැකීමක් නෙවෙයි, පංචස්කන්ධයයි කියන රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේවායේ ඇති තතු ධර්මානුකූලව දැනගන්නා නුවණක්, දැනීම් ඇසක්. මේ තමයි හතර වන ඇස හෙවත් නුවණැස.

පස්වෙනි ඇස තමයි පැනැස. නුවණැසින් දැකපු දේ ප්‍රකාරයෙන් වටහාගන්නා ස්වභාවය. ඒ මගින් මගඵල ලබන්න හේතු වෙනවා. ඒක ප්‍රඥා ඇස කියලත් හඳුන්වනවා.

මේ විදිහට යම් ආකාර පහල වූ දෙයක් වෙනවද, ඒ සියල්ල ජාති නම් වෙනවා. **මේ කිසිම ජාතියක් අහම්බෙන් පහල වෙන්නෙ නෑ. සම්භවය හෙවත් භව ස්වභාවය සමග මනෝ ධාතුක ශක්තියේ පහල කිරීමක්. අක්‍රිය වෙච්ච රූකඩය සමග බැඳුන නූල් ඒ මේ අත ඇදෙන ආකාරයට රූකඩ නැටුම සිද්ධ වෙනව වගේ, සුද්ධාෂ්ටක පරමාණු මේ භවගාමී ක්‍රියාවලියේ නාමරූපයන්ට අනුරූප වන සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු නිපදවන කල්, වේගවත් බවින් බල ශක්තිය හැඩගසන මට්ටමට ඒ ශක්තිය විහිදවල තියෙන නිසා, ඒ අවස්ථාව ඉටු වෙනකල් මේ බුද්ධ දේශිත සූක්ෂම පරමාණු මහත් ශක්තියක් යොදවමින් කිරණ වර්ග බවට පත් කරනවා.**

ඒ සියුම් කිරණ ඊට අඩු ශක්ති බල රටාවකින් නැවත පරිවර්තනයක් කරල ඕලාරික (රළු) කිරණ බවට පත් කරනවා. ඊටත් අඩු බල ශක්ති රටාවකින් ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන වගේ කොටස් බවට පරිවර්තනය කරනවා. ඊටත් අඩු බල ශක්ති රටාවකින් නවීන විද්‍යාවේ සම්මත පරමාණු ස්වභාවයට පත් කරනවා. මෙතෙක් මේ පරමාණුක රූපාකාර ඝන කිරීමේ ක්‍රියාවලියේදී, සත්ත්වයා යම් ගතියක පිහිටියේ කුමක් හේතු කරගත්ත ගති ආකාර පහල කිරීමකින්ද, ඒ පෙර ඇසුරු කළ සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ඇසුරට කැමැත්තෙන් බැඳුන ගති රටා අනුව මනෝ ධාතු ශක්තිය ක්‍රියා කරපු නිසා, අනුරූපයන් සැකසීමට අනුව ඒ ශක්තිය ක්‍රියා කරල තියෙන නිසා, බුද්ධ දේශිත පරමාණුවේ පටන් එබඳු දේ නිපදවීමේ ප්‍රතික්‍රියාව සිද්ධ වෙනවා.

නවීන විද්‍යාව අනුව සම්මත පරමාණුව නිපද වුනාට පස්සෙ මහා පරිවර්තන ශක්තියේ වැඩ කොටස අවසන් වෙනවා. එහෙම වෙන්නෙ ලෝකයේ යම් ද්‍රව්‍ය වස්තු මූලයක් ඇත්ද, ඒක නිපදවල අවසන් නිසා. මේක පටිච්ච සමුප්පන්න රටාව නිසා මොන සක්වළක නමුත්, මොන ප්‍රදේශයක නමුත්, සමාන ගති තියෙන සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තුම නිපදවෙනවා. මේ මූල ද්‍රව්‍ය නිපදවෙන කල් පළමු ශක්තියෙන් කරකවපු රෝදයේ පළමු කැරකෙන වාර මහා වේගයක් සහ ශක්තියක් දරනව වගේ, ද්‍රව්‍ය වස්තුවලට හිමි මූලයන් නිපදවෙන කල් න්‍යෂ්ටික බලය නම් මහත් බලයක් ඒ පරිවර්තන මුල් අවස්ථාවලදී අවශෝෂණය කරගන්නවා.

යම් ක්‍රමයකින් නැවත බිඳ හැරියොත්, අඩංගු වෙලා තිබ්බ්ච මහත් බලයක් මුදා හරිනවා. ඒ බලයට නිදැල්ලේ හැසිරෙන්න බෑ. **ලෝක සත්ත්වයෝ මනෝ ධාතුවෙන් අවශ්‍යතාවයන් නිපදවන්න විශ්වයට ඇදල දීල තියෙන ශක්තිය, අනුරූපයන් නිපදවන කල් පීඩනයකට අහුවෙලා තියෙන විදිහට ක්‍රියා කරන නිසා, ඒ න්‍යෂ්ටික බලය විදිහට මුදාගත්ත ශක්තිය සුදුසු රූප නිපදවන්නම ක්‍රියා කරනවා. ඒකෙන් ලෝකයේ බල ශක්තියක් තියෙන බව විද්‍යමාන වෙනවා.** පටිච්ච සමුප්පන්නව ක්‍රියා කරන මේ ශක්තිය ඒ නිසා නිදැල්ලෙ තියෙන්නෙ නෑ, අනුරූපාකාර චක්‍ර ක්‍රමයකට ක්‍රියා පහල කරල ක්‍රියා ඵලයක් විද්‍යමාන කරනවා. මේ නිසා සත්ත්වයින්ගේ අවශ්‍යතාවයන්ට සරිලන විදිහට යකඩ, ඊයම්, තඹ, රන්... ආදී වර්ගවල මූලයන්, පරමාණුක ඒකකයන් පහළ කරනවා. ඒවා පොළොවේ ලෝහ පරමාණු. පහළ වෙන්නෙත් අනුපාතික අගයකට අනුව. මේ විදිහට ඒ ඒ සත්ත්ව කොට්ඨාසවලට හිමි ගති ලක්ෂණ අනුව අනුරූප වූ ද්‍රව්‍ය මූල ඒකක පහල වෙනවා. ගති ලක්ෂණ යම් යම් ආකාරයෙන් පොළොවේ වෙනස් වෙනවද, අනුරූප වූ ද්‍රව්‍ය වස්තු පහල කරන ද්‍රව්‍ය මූල ඒකකත් ගති ලක්ෂණවලට සමානුපාතිකව හැඩ ගැහෙනවා.

මේ ඒකකයන් ඒකරාශි වෙනකොට පෙරට වඩා අඩු බල ශක්ති අවශෝෂණයකින් ඒකරාශි වෙනවා. මනෝ ධාතුක බලය තේජෝ ධාතුව සමග අවශෝෂණය වෙලා ආපෝ ධාතුව සමග ඇදිල බැඳිල, වායෝ ධාතුව සමග අන්තර් ඉඩකඩ හැදිල, පඨවි ධාතුව සමග ඝනත්වය ඇතිව අනුරූපාකාර හැඩතල

ගනිමින් නිපදවනවා.

**ලෝකයේ මිනිස්සුන්ගෙ ගතිගුණ අතර ස්වර්ණමය, මාණික්‍යමය ගති ගුණ බොහෝ අඩුයි. ඊට අනුරූපව ලෝකයේ හැදිල තියෙන ද්‍රව්‍යත් පටිච්ච සමුප්පන්න නිසා රන්, මැණික් දුර්ලභව ද්‍රව්‍ය වස්තු සහිත ලෝකයේ පහල වෙලා තියෙනවා. මනුස්සයො ගත්තම ගල් හිත්, දැඩි හිත් වැඩියි. ලෝකයේ ද්‍රව්‍ය වස්තු තුලත් ගල් වැඩියි. දැඩි බවට, නිසරු තද බවට පත් වෙච්ච දේවල් වැඩියි. බහුතරයක් මිනිස්සුන්ගෙ අදහසුත් නිසරු පස් වගේ. සරු පස් වගේ අදහස් සුළුයි. ලෝකයෙත් නිසරු පස වැඩියි. සරු පස අඩුයි. වල් ගති වැඩිපුර නැගෙමින් එබඳු අය සමග එකතු වෙන, වෙළිල ජීවත් වෙන අය වැඩියි. ලෝකයේ වල් ගස්, වල් වැල් ගත්තත් ඒ වගේම වැඩියි. ඒ වගේම ඒවා සරුවටත් වැඩෙනවා. කාම කෙළෙස් කෙරෙහි වැගිරෙන ගති වැඩියි. කාම පිපාසයට කාමයන් පානය කරනවා. ගතිය අනුව ගත්තම ලෝකයේ ද්‍රව කොටස වැඩියි. ඒවා පිපාසයට පානයට අනුරූපව ද්‍රව්‍ය වස්තු විදිහට පහල වෙනවා.**

මේ විදිහට ගති ගුණ යම් ආකාර වෙනවද, මනෝ ධාතුක ශක්තියත් අනුරූපව සම්භවය කෙරෙමින්, භව පච්චයා ජාති කියන පටිච්ච සමුප්පන්න ධර්ම සිද්ධාන්තය අනුව ද්‍රව්‍ය වස්තු ජනිත කරනවා. මේ ආකාරයෙන් චුති පටිසන්ධි විදිහට භව පච්චයා ජාති කියන ක්‍රියාවලියෙදි මහත් වූ සූක්ෂම රූප කලාප සම්පිණ්ඩනයන්ගෙන් ද්‍රව්‍ය මූලත්, ප්‍රවෘත්ති කලාපමය වූ නාම රූප පච්චයා සළායතනං කියන පටිච්ච සමුප්පාද ක්‍රියාවලියෙදි මනෝ ධාතුක ශක්ති ප්‍රතිඵල වැඩි වශයෙන් ද්‍රව්‍ය මූල ධාතුන්ගේ සංයෝග (හයිඩ්‍රජන් + ඔක්සිජන් = ජලය) මිශ්‍රණ කරන ශක්ති අවශෝෂණ සහ මුදා හැරීම් කියන ඒවත් සිද්ධ වෙනවා. අනිකුත් පටිච්ච සමුප්පන්න ගති ස්වභාවයන් අනුව වෙනස්කම්ද අනුරූපව ඇති කරනවා.

මේ විදිහට ක්‍රියා කරන නිසා නවීන විද්‍යා සම්මත පරමාණුව හෙවත් ද්‍රව්‍ය මූල ඒකක බිඳ හරිනකොට ඒ ඇසුරේ මහත් ශක්ති බලයක් නිකුත් වෙනවා. එහෙම වෙන්නෙ ඒවා එකතු කරන්න මහත් ශක්ති බලයක් අවශෝෂණය කරන්න අවශ්‍ය වෙච්ච නිසා. ද්‍රව්‍ය වස්තු නොපෙනෙන විදිහට කුඩා රූප කලාප තිබීමත්, ඒ ඇසුරේ තිබිච්ච අධික ශක්තිය දැකීමත් නිසා, රූප කලාප කැඩිල ශක්තියට පරිවර්තනය වුනා කියල සමහරු මුළා මතයන්ට බැස ගන්නවා.

මේ විදිහට රූප ජාතිවල පහල වීම වෙනවා. ඒ වගේම දැනීම් ස්වභාව ලක්ෂණ තියෙන නම්‍යතාවයන් සඳහා ගති අනුව ශක්තිය ලබාදෙන මනෝ ධාතුක ශක්තිය මනෝ විඤ්ඤාණ ධාතු පහල කිරීමේ මූල ධාතුව වෙනවා.

ඇලීම බැඳීම යම් ආස්වාදයක් සඳහා හෝ දූෂ්‍ය බවක් සඳහා හෝ නාම රූප ඇසුරු කරල නැගුන නම්, එයින් බලවත් නාම රූප මනෝමය නිපැයුම් විදිහට පහල කරනවා. මේ විදිහට සිත් පහල වෙනවා. රාගය සමග වූ පහල කිරීම් තිබුන නම් රාග සිත්වල ඉපදීම වෙනවා. ද්වේශය සමග පහල වුනා නම් ද්වේශ සිත්වල ඉපදීම වෙනවා. පුණ්‍ය ස්වභාවයෙන් පහල වුනා නම් පින් සිත්වල ඉපදීම වෙනවා. ඉපදවූ ස්වභාවයන් යම් අවස්ථාවක් යනකල් පහල කරනවද, උපදින උපදින සිත ක්ෂණයකින් මියයමින් අළුත් අළුත් සිත් පහල කෙරෙමින් නාම ගෝත්‍ර පරම්පරාවක් ඇති කරනවා. ඒ ඒ ස්වභාවයේ හේතුවෙන් ඒ ඒ සිත් මේ විදිහට ඉපදෙනවා.

**කෙබඳු විදිහක ඉපමදීක් වෙනවද, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීම නමැති ලෝක ස්වභාවයේ වහළෙක්වම ගොදුරක්වම පහල වෙනවා. වහල් බවටම ගොදුරු බවටම ලක්වෙනවා. ඒ වගේම වැනසෙනවා. හටගත්ත ජාතිවල වැනසීමේ ක්‍රියාවලියේ අතරමැදදි ජරා රූප, ව්‍යාධි රූප... ආදියත් උපදිනවා. ඒවත් ඒ විදිහටම වැනසෙනවා. උපන් යම් ජාතියක් ඇත්ද විපරිණාම වෙනවා, වැනසෙනවා. ඒක නවත්වන්න සමත් කිසිම බලවේගයක් නෑ. හේතුකාරකවම පහල වෙනවා.**

භව නැතිවෙන කොට ජාති වෙන්නෙ නෑ. භව ඇති නිසාම ජාති වෙනවා. අනිත්‍ය නිසාම විපරිණාමය නිසාම විනාසයක් හෙවත් මරණයක් දිස් වෙනවා. නැවත උපතක් දිස් වෙනවා. ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පහල වෙනවා. ඒ සියල්ල මොහොතින් මොහොත ගෙවෙන නිසාම අනිත්‍ය වෙනවා. සාරත්වයක් ඉතිරි නොකර දාහයම ඇති කරල වැනසෙන නිසාම දුක් වෙනවා. පවත්ව ගන්න කොච්චර කැමති වුනත් ඒ සඳහා තමන්ට හිමිකමක් නැති නිසාම, කිසිම කැමැත්තක් අකමැත්තක් නොලබාම විපරිණාමයට වැනසීමට යන නිසාම අනාත වෙනවා. මේ විදිහට ආදීනව වෙනවා.

**මේ කියන ලෝකය යම් තාක් කල් ඇසුරු කරනවද, ඒ තාක් කල් වැනසෙනකොට කම්පා වෙනවා, ශෝක වෙනවා, දුක් දාහ සහිත වෙනවා, අඬනවා, දොඩනවා, මූර්ජා වෙනවා. සංවේගයෙන් කලකිරීමෙන් යුතුව සතුට සඳහා නැවත නැවතත් ඒ ජාතිම හොයනවා. ඒ තමයි මුළා සහගත සංවේගය, මුළා සහගත කලකිරීම.** ජාති හට ගැනීමක් වෙනවද, භව නිසාම වෙන බව දැනගන්නවා. භව නිරෝධ වෙනවද ජාති නිරෝධ බව දැනගන්නවා. ජාති නිරෝධයෙන් ජරා මරණ සහිත සියලු දුක් කෙළවර වන බව දැනගන්නවා. ඒ නිසා දුක් නැති කරන මග නම්, මේ ජාතියේ ඇලීම් බැඳීම් නොකිරීමෙන් මනා සේ සත්‍ය වූ ධර්මය මෙනෙහි කිරීම බවත් දැනගන්නවා.

මේ විදිහට දැනීම තියෙනකොට නිතර ඒ ගැන මෙනෙහි කරනවා, භාවිතා කරනවා. එතකොට ජාතියේ කලකිරෙනවා. කලකිරෙනකොට අත්හැරෙනවා. අත්හැරෙනකොට නොඇලෙනවා. නොඇලෙනකොට මිදෙනවා. මිදුනම පරම සත්‍ය වූ පටිච්ච සමුප්පන්න ආකාර බැලීමෙනුත්, පටිච්ච සමුප්පන්න වූ ධර්මයන්ගේ නිරෝධය බැලීමෙනුත් අනිච්ච, දුක්ඛ, අනත්ත බව, නිස්සාර බව දැකලම මිදුන බවත්, අනුශය කෙළෙස් නැති බවත්, මතු හටගන්න හේතු නැති බවත් දැනගන්නවා. අත්බැව කෙළවර වුනාද, ජාති කෙළවරයි. ජරා, මරණ, සෝක, පරිදේව... ආදී සියලු දුක් කඳම කෙළවරයි. නිවන පූර්ණයි. මේක සත්‍යයක්. රාගක්ෂය වෙන නිසාත්, ද්වේශක්ෂය වෙන නිසාත්, මෝහක්ෂය වෙන නිසාත් ඒකායන මාර්ගයක්. ඒකාන්තයෙන් මගඵල ලැබෙනවා. නිවනින් කෙළවර කරනවා.

මේ විදිහට පටිච්ච සමුප්පාද ධර්මයනුත්, නිරෝධ ධර්මයනුත් දැනගෙන, විරාග නිශ්‍රිතව, නිරෝධ නිශ්‍රිතව මාර්ග බ්‍රහ්ම චරියාව වඩල නිවන් ලැබිය යුතු බව බුද්ධ දේශනාව අනුව දැනගන්න ඕන.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සැබෑ බෞද්ධයෙක් පැවැත්ම හැඩ ගසාගෙන කටයුතු කරන ආකාරය...

## මාර්ග බ්‍රහ්ම චරියාවේ මුල

සං. නි. (2) - 115 පිටුව - ඤාතික සූත්‍රය.

"ඇසත් රූපයත් ගැටීමෙන් චක්ඛු විඤ්ඤාණය උපදී. ඇස, රූපය හා විඤ්ඤාණය සමග එම කාම ක්ලේෂයන්ගෙන් ස්පර්ශය පහළ වේ. ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනාවත්, වේදනා ප්‍රත්‍යයෙන් තණ්හාවත්, තණ්හා ප්‍රත්‍යයෙන් උපාදානයත්, උපාදාන ප්‍රත්‍යයෙන් භවයත්, භව ප්‍රත්‍යයෙන් ජාතිත්, ජාති ප්‍රත්‍යයෙන් ජරා, මරණ ඇතුළු සියලු දුක් රැසත් උපදී."

මේ විදිහටම කනත් ශබ්දයත් ගැටීමෙන් සෝත විඤ්ඤාණය උපදී... නාසයත් ගන්ධයත් ගැටීමෙන් ඝාන විඤ්ඤාණය උපදී... දිවත් රසයත් ගැටීමෙන් ජිව්හා විඤ්ඤාණය උපදී... කයත් පොට්ඨබ්බයත් ගැටීමෙන් කාය විඤ්ඤාණය උපදී... මනසත් ධර්මයත් ගැටීමෙන් මනෝ විඤ්ඤාණය උපදී... මේ තුන් තැන්හි කාමයන්ගේ එක්වීම නිසා ස්පර්ශය වේ. ස්පර්ශය හේතුවෙන් වේදනාවත්, වේදනා හේතුවෙන් තණ්හාවත්, තණ්හා හේතුවෙන් උපාදානයත්, උපාදාන හේතුවෙන් භවයත්, භව හේතුවෙන් ජාතිත්, ජාති හේතුවෙන්, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාස පහළ වේ.

මේ විදිහට මෙනෙහි කිරීම මාර්ග බ්‍රහ්ම චරියාවේ මුල බව දේශනා කරල තියෙනවා.

මේ පොතේම 127 වන පිටුවේ පරිවිමංසන සූත්‍රයේ සඳහන් වෙන විදිහට, ඇති කල්හි වන, නැති කල්හි නොවන දහම් මග දැනගෙන හරි මගට පිළිපන්න විට අනුකූල පිළිවෙතේ හැසිරීම වන බව පෙන්වා තියෙනවා.

අවිද්‍යාවෙන් යුක්ත පුද්ගල තෙම ඉදින් පුණ්‍ය සංඛාර රැස් කෙරේ නම් විඤ්ඤාණය පුණ්‍ය වේ. අපුණ්‍ය සංඛාර රැස් කරන්නේ නම් විඤ්ඤාණය අපුණ්‍ය වේ. ආනෙඤ්ඤාභි සංඛාර රැස් කරන්නේ නම් විඤ්ඤාණය ආනෙඤ්ඤාභි වේ. මෙසේ විඤ්ඤාණ ඇත්තේ ජාති වේ.

යම් කිසි මහණෙකුගේ අවිද්‍යාව ප්‍රහීණ වූවාහුද විද්‍යාව උපදී. හෙතෙම අවිද්‍යාවෙන් තොරවීමෙන් විද්‍යාව ඉපදවීමෙන් පින් (පුඤ්ඤාභි සංඛාර) නොම රැස් කරයි. පව් (අපුණ්‍යාභි සංඛාර) නොම රැස් කරයි. අරූපාවචර සංඛාර (ආනෙඤ්ඤාභි සංඛාර) නොම රැස් කරයි. ලොව කිසිවක් උපාදාන නොකරයි. උපාදාන නොකරන්නේ තැති නොගනී. ජාතිය ක්‍ෂය විය. බඹසර වැස නිමවන ලදී. රහත් බැව් සඳහා වෙන කළ යුතු දෙයක් නැතැයි දැන ගනී. මෙසේ මේ විරාගය වේ. නිරෝධය වේ.

එහෙනම් බෞද්ධ වෙන්නෙ මේ විරාග නිශ්‍රිතව, නිරෝධ නිශ්‍රිතව හිත පුහුණු කිරීමෙන්. කාම වස්තුවක වේවා, රූපාවචර අරමුණක වේවා, අරූපාවචරයේ වේවා, ඇලීමේ බැඳීමේ ආදීනව මෙනෙහි කරනව නම්, විරාගයේ නිරෝධයේ ආනිසංස මෙනෙහි කරනව නම්, ඒ බෞද්ධයාගේ සිතට මොකක් වෙයිද? හිත් පහල වෙන්නෙ අරමුණුවල ඇලීම බැඳීම හේතු කරගෙන. ඇලෙන්නෙ බැඳෙන්නෙ නාමරූපවල. එතකොට ඒවා ප්‍රිය මධුර විදිහට ආස්වාදජනක විදිහට දැනෙන නිසා, ඒ නාමරූප ස්වභාවයන්ම මනෝ නිර්මාණ විදිහට පහල කරනවා. එතකොට සිත් පහළ වෙනවා. මේවා නිසා කාම රාග කියන කහට හට ගන්නවා, රූප රාග කියන කහට හට ගන්නවා, අරූප රාග කියන කහට හට ගන්නවා. මේ කහට තියෙනකොට කාම බලාපොරොත්තු ඇති වෙනවා, රූප බලාපොරොත්තු ඇති වෙනවා, අරූප බලාපොරොත්තු ඇති වෙනවා. මේ බලාපොරොත්තු සියල්ලම ඉහත කී කහට නැතිවෙනකොට නැති වෙනවා. එතකොට ආරම්මන දැනෙන ලක්‍ෂණය විතරක් ඉතිරි වෙනවා. ඒක දැන ගැනීමේ බලාපොරොත්තුව නෙවෙයි. **බලාපොරොත්තු තියෙනව නම් කහටක්. දැනීම පමණක් තියෙනව නම් ඒක පෙර භවයේ විපාක ස්කන්ධයන් නිසා වෙනවා.**

එතකොට කෙනෙකුට හිතෙන්න පුළුවන්, බුදු රජාණන් වහන්සේ සහ රහතන් වහන්සේලා ශ්‍රාවකයන්ගෙන් ප්‍රශ්න ඇහුවෙ බලාපොරොත්තුවක් නැතිවද කියල. ඒක පරෝපකාරය සඳහා ආයාසයෙන් නැගී සිටීමක්. ඒක ඇලීම බැඳීම එක්ක සම්බන්ධ

නෑ. කසාය බොනව වගෙයි. යමෙක් කසාය බොන්නෙ ඇලීමකින් හෝ ආසාවකින් බැඳීමකින් හෝ නෙවෙයි. ඒක ආයාසයෙන් කරන වැඩක්. **මොහොතක්වත් කසාය බොන්න ඇලෙන බැඳෙන ගති නැතිවා වගේ, රහතන් වහන්සේත් බඩගින්නට පිණ්ඩපාතෙ වඩිනවා, අනුකම්පා කරල ධර්ම දේශනා කරනවා.** ලොව්තුරා බුදුවරයන් වහන්සේලා නම් ඒකත් කරන්නෙ පරම අනුකම්පාවෙන්. පාරමිතා පිරුවෙ ආසාවට බණ දේශනා කර කර ඉන්න නෙවෙයි, ලෝක සත්ත්වයින්ට එගොඩ වෙන මග විද්‍යාමානත්වයට පත් කරල සාසනය ගොඩනැගෙන කල් විතරයි.

මාරයා බුදුන් වහන්සේට පිරිනිවන් පාන්න කියල බුදු වුනාම ආරාධනා කළ අවස්ථාවෙ බුදුන් වහන්සේ දේශනා කළේ, භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිවුවනක් පිරිස යම් දවසක අධර්මයක් මතු වුනාම ධර්ම හේතු දක්වමින්, අවිනයක් මතු වුනාම විනය හේතු ඉස්මතු කරමින්, මිත්‍යාවාද මැඩ පවත්වල ධම්මානුධර්ම ප්‍රතිපත්තිය අනුගමනය කරල නිවන් ප්‍රත්‍යක්ෂ කරන්න යම් දවසක දක්ෂ වෙනවද, එතෙක් අනුකම්පාවෙන් ඒ සඳහා කටයුතු කරන කල් පිරිනිවන් නොපාන බව. කාරණය පූර්ණ වුනාම නැවතත් මාරයාගෙන් ආරාධනා ලැබුනා. එතකොට උන්වහන්සේ ආයු හරණය කරන්න අධිෂ්ඨාන කළා.

රහතන් වහන්සේලාත් බුදු පියාණන් වහන්සේගේ නියම පුත්‍ර රත්නයන් නිසා, ජීවිතය පවතින කල් ශ්‍රාවකයෙක් විසින් ඉටු කළ යුතු කාර්යක් නිසා, ධර්ම දේශනා කිරීම් ආදිය අනුකම්පාවෙන් ඉටු කරනව මිසක් ඇලීම බැඳීම නිසා ඒ කටයුතු සිද්ධ කරනව නෙවෙයි.

මේ විදිහට උන්වහන්සේලා සියලු බලාපොරොත්තු කෙළවර බව වටහා ගත්තම, බලාපොරොත්තු සමග සම්බන්ධ නැති පූර්ව කර්ම නිසා හට ගත්ත විපාක ඵලය විදිහට භවය තියෙන කල් පවතින ඒ දූනෙන බවත් දුකක් දාහයක් බවම ප්‍රත්‍යක්ෂයෙන් යුතුව අවබෝධ කරල, දිවි කෙළවර වෙන මොහොත වෙන කල් අකම්පාවෙන් (කම්පා නොවී) ජීවිතය පවත්වනවා.

යම් බෞද්ධයෙක් මේ විදිහට බලාපොරොත්තු අත්හරින මග වටහා ගනිමින්, මොහොතින් මොහොත ටිකෙන් ටික අත්හරිනව නම් ඒ තමයි බොදු මග. නමුත් පූර්ව භාග ප්‍රතිපදා සහිත බෞද්ධයා මුළු ලෝකයම අත්හැරල ජීවත් වෙන රහතන් වහන්සේ වගේ කෙනෙකුත් නෙවෙයි. ඒ වගේම ලෝකයේ ආස්වාදවල ඇලෙන්න කරුණු හොයන්න උත්සාහ කරන කෙනෙකුත් නෙවෙයි.

**බෞද්ධයා කියන්නෙ රන්කරුවා රිදියේ මළ හරිනවා වගේ, මොහොතින් මොහොත ටිකෙන් ටික උත්සාහ කරමින් අග්‍ර ඵලය වන සියල්ල අත්හැරීම, නොඇලීම, මිදීම කරා යාම අරමුණු කරගෙන, හේතුවකින් පහල වුන සියල්ල අනිච්ච විදිහට දකිමින්, දුක් විදිහට දකිමින්, ලෝකයේ යම් තාක් දේ ඇත්ද ඒ සියල්ල අනත්ත විදිහට දකිමින් මෙනෙහි කරමින්, ඒ මූලික වෙච්ච අරමුණ පූර්ණ වෙන කල්ම මාර්ග භාවනාව කරන කෙනෙක්.** මේ මාර්ග භාවනාව හැම තිස්සෙම විරාග නිශ්‍රිතයි, නිරෝධ නිශ්‍රිතයි, ලෞකික වූ කිසිම අරමුණක් සමග සම්බන්ධ නෑ.

## බෞද්ධයෝ ආපෝ, තේජෝ... ආදී දස කසිණ වඩන්න උත්සාහ කරන්නෙම නැත්ද?

නෑ. ලෞකික ප්‍රථම ධ්‍යානාදියට උත්සාහ කරන්නෙම නැත්ද? නෑ.

එහෙනම් සතර දහන් වඩන භික්ෂුව, භික්ෂුණිය හෝ සිවු පිරිස වගේම, දස කසිණාදිය මොහොතක් හෝ වඩන සිවු පිරිස මේ සාසනයේ ආර්ය ගුණ තියෙන අයයි, ලෝකයා දෙන දානයට ණය නොවී භුක්ති විඳින අයයි කියල දේශනා කරල නැත්ද? දේශනා කරල තියෙනවා.

එහෙනම් ඉහත කී මතයන්ට අර්ථ ගලපන්නෙ කොහොමද? මේ කාරණය සියුම්ව විසඳිය යුතු ප්‍රශ්නයක්. ගුවන් විදුලි යන්ත්‍රය ක්‍රියාකාරීත්වයට සුදුසු විදිහට නිසි පරිදි සකස් කරල තිබුනත්, එක කම්බියක් හෝ ගැලවුනා නම්, ඒ කම්බිය යන්ත්‍රයේ විශේෂ සංඥා මාර්ගයකට සම්බන්ධ වෙන්න ඕන නම් හඬ එන්නෙ නෑ. පැස්සුව තැන වැරදුනා නම් ඒත් හඬ මතුවෙන්නෙ නෑ. විදුලි රැහැන් මාරු කරල සම්බන්ධ කළා නම් ඒත් හඬ එන්නෙ නෑ. යෝනිසෝ මනසිකාරය නම් වූ නුවණින් විමසල බලල වරද හඳාගත්ත මොහොතෙම හඬ නැගෙනවා. වරද සුළු වුනත්, ඒ වරදෙ බොහෝ කොට යොදවල තිව්ව නම් අනිත් වටිනා උපකරණත් ඒ හේතුවෙන් දැවිල යන්න පුළුවන්.

ඒ වගේම හොඳින් මේ ආර්ය භාවනාව ගැන විමසල බලල තීරණයකට බහින්න ඕන. **ආර්ය උතුමන් විසින් නොකළ යුතුයි කියල දේශනා කළ "අස්ව ගුණ්ඩ" නම් භාවනාව නොකළ යුතුයි. කළ යුතු සහ නිරායාසයෙන් ලබන ඇසුරු කෙරෙන අජානේය නම් භාවනාව දැනගෙන ඒ අනුව කළ යුතුයි.** මේ ක්‍රමය ඉදිරියෙදි විස්තර කෙරෙනවා. අං. නි. - 6, 609 - 613 පිටුව දක්වා තියෙන <u>සන්ධ සූත්‍රයේ</u> මේ ගැන සවිස්තරව තියෙනවා.

## විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත දහම දැනගන්නෙ කොහොමද?

රාගය කාම රාග, රූප රාග, අරූප රාග කියල තුන් ආකාරයි. විරාග නිශ්‍රිතව වාසය කරනව නම් මේ තුන් රාගය හඳුනගෙන ඊට හේතු වන නාමත්, රූපත්, නාම රූපත් හඳුනගන්න ඕන. ඉන්පසු එබඳු නාම රූපයක් ඇසුරු කරනකොට පහළ වන විඤ්ඤාණයක් වෙනවද, ඒ විඤ්ඤාණය යම් ඇලීමක් බැඳීමක් සමග පවතිනව නම් ඒක දැනගන්න ඕන. එතකොට හිත් පරම්පරාව ඇලීම බැඳීම නිසා අනුරූප වූ නාම රූප කෙරෙහි හඹා යන හැටි, ඇලෙන හැටි, බැඳෙන හැටි, ආස්වාද ලබන හැටි තමන්ටම වැටහේවි. මනෝ නිර්මාණ මගින් ඉදිරියේ බලාපොරොත්තු වන කටයුතු පිළිබඳව ආස්වාද තකා ඒවා කරන හැටි, කියන හැටි පිළිබඳව පැයකට පැය බාගයකට ඉදිරියේ හෝ කරන්න බලාපොරොත්තු වන දේ පිළිබඳව ආස්වාද වින්දන සහිතව හිත් පහල කරන ආකාරය තමන්ටම තේරුම් ගන්න පුළුවන්.

කාම ලෝක පිළිබඳව හෝ රූප ලෝක පිළිබඳව හෝ අරූප ලෝක පිළිබඳව හෝ යම් නාම රූපයක් ඇසුරු කරල බැඳුන ඇලීම බැඳීම ඇතිව කරන මේ මනෝ නිර්මාණවලදී කාම සංඛාර, රූප සංඛාර, අරූප සංඛාර පහල කරනවා. මේ නාම රූප පහල කරනකොට ඒවාට අනුරූප ලෝකය ඇසුරු කරන ගති, ඇසින්, කනින්, නාසයෙන්, දිවෙන්, ශරීරයෙන් ඇසුරු කරන්න බලාපොරොත්තුව ඇති කරමින්, මනසින් හිතන්නත් බලාපොරොත්තු ඇති කරල ක්‍රියාත්මක වෙනවා. ඒ විදිහට නාම රූප සංඛාර සහිත වෙනව නම් සළායතන පහළ වෙනවාමයි. වෙන මගකින් සළායතන පහළ වෙන්නෙ නෑ. සළායතන පහළ වෙනකොටම පරීක්ෂණ බව ඇති කරන නිසා, සුදුසු අරමුණු මුණ ගැහිල ස්පර්ශ පහල කරනවා. එතකොට කාම, රූප, අරූප අරමුණු පිළිබඳව වින්දන ගැලපෙන විදිහට පහල වෙනවා.

ස්පර්ශයෙන්ම වේදනා ලැබෙනව මිසක් වෙන මගකින් වේදනා ඇතිවෙන්නෙ නෑ. කොකා දිය හිඳෙන කල් බලාපොරොත්තුවෙන්

ඉන්නවා කියනව වගෙයි, බලාපොරොත්තුව හීන මවමින් හිටපු දේ ලැබෙන කොට, ඒ ඒ තැනින් භාවෙන බව ඇතිව තණ්හා නම් ස්වභාවය ඇති කරනවා. එතකොට ඒ අරමුණේ ඇලිල ගැලිල ඉන්නවා. **කාන්දමක් කරා ළං වෙනකොට ඈතදි යන්තමට දැනෙන ඇදීම, ඉතා ළං වෙනකොට මහත් සේ ඇදගන්නව වගේ, අරමුණ දකිනකොට හෙමින් තිබ්ච්ච ඇදී යාම, ඇසුරට වැටුනම මහත් සේ ඇද බැඳ ගන්නවා.** තණ්හාව නිසාම ඇසුර පහල කරන නිසා, ඇලිල බැඳිල ඒක අල්ලගෙන අත්හැරගන්න බැරි බවට පත් කරන උපාදාන නම් ස්වභාවය එතකොට සිද්ධ වෙනවා.

මේ විදිහට උපාදාන වෙනකොට භව පහල කරන්න පටන් ගන්නවා. ඔහු නොදැන හිටියත් උපාදානය වෙනකොට භව හෙවත් පහල කිරීම ඒ ගතියත් සමගම හට ගන්නවා. මේ නිසා අනුරූප වූ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පහල කරල දෙන්න අවශ්‍ය විදිහට ලෝක තත්ත්වයන් පහල කරනවා. කාම ලෝකයේ භව පහල කිරීමේ ප්‍රතිඵලයක් විදිහට කාම ජාතිත්, රූප ලෝකයේ කාමය නැති රූප ජාතිත්, අරූප ලෝකයේ හිත් පහල කරන නාම ජාතිත් මේ විදිහට පහල වෙනවා. මේ ආකාර ජාති පහල කරන මග යමෙක් අනුගමනය කරනව නම්, ඒ විදිහට කටයුතු කරන ගමන් නිවනක් බලාපොරොත්තු වීම, අඟින් කිරි දොවන්න බලාපොරොත්තුවෙන් අඟක් හොයනව වගේ වැඩක්.

එහෙනම් බෞද්ධයා දන් දෙනකොට, බුදුන් දහම් සඟුන් වඳින කොට, පින් රැස් වෙනව නේද? එතකොට නිවන් මගට කොහොම ගැලපෙනවද කියල දැන් ප්‍රශ්නයක් ඇතිවෙන්න පුළුවන්. මේක සියුම් විදිහට විග්‍රහ කරල දැනගන්න ඕන ප්‍රශ්නයක්. පුණ්‍ය වේවා පාප වේවා, චේතනාව යම් ආකාරද, සිද්ධ වෙන්නෙ ඊට අනුකූලව.

## සැබෑ බෞද්ධයෙක් තිරිසන් සතෙකුට කන්න දෙන හැටි



අපි හිතමු යමෙක් මෙහෙම කියනව කියල. "මම නම් දෙව් ලොව බඹ ලොව කොහේවත් බලාපොරොත්තු නැතිවයි පින් කරන්නෙ, භාවනා කරන්නෙ" දැන් ඔහු නිවන් පතන බවත් කියනවා කියල හිතන්න. දැන් මේ කාරණය කොච්චර දුරට සාර්ථකද? බඩගින්නෙ එන බැල්ලියකට ආදරයෙන් කතා කරල බඩ පිරෙන්න කන්න දෙනවා. ඌත් බඩ පිරුන නිසා උඩ පැන පැන සෙල්ලම් කරනවා. ඌට දන් දුන්න පුද්ගලයා මේක දැකල බොහෝ සතුටට පත් වෙනවා. දැන් ඌ විඳින සතුට ඔහුත් බෙදා හදාගෙන. පිනවන්න ආසා කරපු ඔහු, ලෞකික වූ පිනවීමක එල්බගෙන ඉන්න බව දන්නෙ නෑ. ඔහුට ලැබුනෙ නිවනට හේතු වෙච්ච පිනක් නෙවෙයි, භවගාමී පිනක් බව ඔහු දන්නෙ නෑ.

ඒ වගේම බඩගින්නෙ යන යාචකයෙක් යමක් ඉල්ලගෙන ආවම, ඔහුට හොඳට සළකල අනුකම්පා කරල රසට ආහාරයක් දෙනවා. ඔහු බඩ පිරුනම, කාලයකට පස්සෙ රසට බඩ පිරෙන්න ආහාර ලැබුන බව කියල මහත් සේ ප්‍රසංසා කරනවා. දැන් තමනුත් ඒ කරපු පින ගැන හිතල බොහෝ සතුටු වෙනවා. දැන් මේ අවස්ථා දෙකේදීම ඔහු පිනාගියේ ලෞකික වූ භවගාමී වූ පිනක. ඔහු නිවන් පතල මිසක් දෙව් ලොව පතල පින් නොකරන බව කිව්වත්, නාම රූප පරිච්ඡේද ඥානයක් තිබුන නම්, ඒ අවස්ථාවෙ ඇති වුනේ ලෞකික වූ භවගාමී වූ පුණ්‍ය සංඛාර සහිත නාම රූප නිසා පහල වූ විඤ්ඤාණයක් බව දැනගන්නවා. ඒ අනුව නැවත නැවත සතුටු වන, ඒ වගේම ඒ ආකාර පින් ගැන නැවත නැවත සතුටු වන ඔහුට පුණ්‍ය සංඛාර පහල වුනේ, කාම රාග සහිත වූ, කාම ලෝකයේ උපතකට පමණක් සීමා වූ විඤ්ඤාණයක් ඇති කරන්න. ඒ සිතේ බලවත් වෙන විඤ්ඤාණ නිසා, බලවත් මනෝ නිර්මාණ ඊට අනුව පහල වෙනවා. එයින් අනුරූප වූ සළායතනත්, එයින් අනුරූප වූ ස්පර්ශත්, එයින් අනුරූප වූ වේදනාත්, එයින් අනුරූප වූ කාම තණ්හාත්, එයින් අනුරූප වූ කාම උපාදානත්, එයින් අනුරූප වූ කාම භවත්, එයින් අනුරූප වූ කාම ජාතිත් ඔහුට පහළ වෙනවා.

ඒ කාම ජාති නිසා සමහරවිට ඉතා ධනවත් පවුලක පොහොසතෙක් වෙලා ඉපදෙන්න වගේම, වස්තු සම්භාරයකට හිමිකරුවෙක් වෙන්නත් පුළුවන්. ඔහුට, පෙර භවයේ හිඟන්නා බඩ පුරවගෙන සතුට ප්‍රකාශ කළාම තමන්ටත් සතුටක් දැනුන ආකාරය කර්ම, කර්ම නිමිති, ගති නිමිති... ආදී වශයෙන් වැටහිලා දෙවෙනි භවයේ උපන් සිත පහල වෙලා තියෙනවා.

දැන් සහජ ගතිය විදිහට ඔහුට වැටහෙන්නෙ, ලෝකයේ සතුට සැනසීම ලබන මග, එබඳු දුගී මගී යාචකාදීන්ට කාල බීල ලබන්න තියෙන සතුට ලබා දීම වගේ ක්‍රියා විදිහටමයි. ඒක ආර්ය සිතිවිල්ලක් නෙවෙයි. නුවණට ගෝචරත් නෑ. නිවන් පතල පින් කළයි කිව්වත්, දෙව් ලොව මිනිස් ලොව සම්පත් පතන්නෙ නෑ කිව්වත්, ඔහු පතල තියෙන්න, තණ්හා උපාදාන කරල තියෙන්නෙ දෙව් මිනිස් භව සම්පත්මයි. ඒ නිසා ආර්ය බවට හේතුවන පින්වලට චේතනා පිහිටුවන ආකාරයත් දැන ගන්න ඕන. එහෙනම් ඒක සිද්ධ කරන්නෙ කොහොමද?

**බැල්ලියක් බඩගින්නෙ ආවම මේ විදිහට සිහි කරන්න ඕන. "මේ කර්ම විපාකයක්. තිරිසන් ජාතියේ දුක් සහිත බඩ සාගින්නෙන් පෙළෙන ස්වභාවය විද්‍යමානයි. මේ ජාති ස්වභාවයක්. අනුරූප වූ ගතියකින් හෙවත් පහළ වීමක් සිද්ධ කළ භව ප්‍රත්‍යයෙන් සිද්ධ වෙච්ච දෙයක්. ඒ තිරිසන් භව ගතිය නිකම්ම පහළ වෙච්ච එකක් නෙවෙයි. යුතු අයුතුකම් දැනගත්තෙ නැති, පාපයට ලැජ්ජා බය නැති, ලෝභ වගේම කෑදර වෙච්ච, අනුන් බලාගෙන ඉඳෙද්දි, මව්පිය වැඩිහිටි අය බලාගෙන ඉඳෙද්දි, අතිමානයෙන් යුක්තව ආහාර භුක්ති විඳීම... වගේ කටයුතු මහ ලොකු හපන්කමක් විදිහට දැඩිව අරගෙන උපාදාන කිරීම නිසා ඇතිවෙච්ච තිරිසන් භවයක්. එයින්**

**ඇතිවෙච්ච ජාතියක්.**

මේ තිරිසන් උපාදානය නිකම්ම හට ගත්තක් නෙවෙයි. එබඳු දේ ප්‍රිය කරල මනාප කරල හිතමින් කරපු තිරිසන්ගත ස්වභාවයන්වල ඇලීමෙන් ඇතිවෙච්ච දෙයක්. එබඳු වූ තණ්හා ප්‍රත්‍යයෙන් වෙච්ච දෙයක්. මේ තිරිසන්ගත ස්වභාවයේ තණ්හා ආසා කිරීමත් නිකම්ම වෙච්ච දෙයක් නෙවෙයි. එබඳු තිරිසන් වින්දනයන් කෙරෙහි ප්‍රිය මනාප විදිහට හිතීමෙන් සිද්ධ වෙච්ච දෙයක්. ඒ තිරිසන් වින්දනයත් නිකම්ම පහල වෙච්ච එකක් නෙවෙයි. තිරිසන්ගත නාමරූප ස්පර්ශ කරන ආයතනවලින් ඒ තිරිසන් ස්පර්ශ ගැනීමේ ප්‍රතිඵලයක්. ඒ සළායතනත් නිකම්ම පහල වුනේ නෑ. තිරිසන්ගත නාමරූප ප්‍රිය මධුර විදිහට අරගෙන, මුළාවෙන් බැසගත්ත තිරිසන් බවේ ප්‍රියමනාප වෙලා බැස ගැනීමේ ප්‍රතිඵලයක්.

මුළා වෙච්ච සත්ත්වයෝ පාපයත්, පාප ප්‍රතිඵලයත් නොදැන කරන මේ තිරිසන්ගත නාමරූප ඇසුරු කරල, මෙබඳු ජාති පහල කරල, දුක් වේදනා සහිත අනුරූප වූ පාපී භවයන් ලබල පව් ගෙවනවා. මේකත් එබඳු භවයක්. අනාත වෙච්ච, මෝහයෙන් දැඩි වෙච්ච සත්ත්වයන්ට කවදා හරි සසර දුක, අනාත බව, සසර ගින්න, භය, දාහය වැටහේවා. **මේ තිරිසන් සතාට දෙන ආහාර පිඬ නමුත් අරගෙන මා කෙරෙහි ප්‍රසන්න බවක් පහල කරගන්නවද, බුද්ධ ශ්‍රාවක වූ මා කෙරෙහි වන පැහැදීමත් මේ සතාට මතු නිවන් සුවයටම හේතු වේවා.”**

මෙබඳු හිතකින් හිතල, අනාත වෙච්ච බඩ සාගින්නෙන් පෙළෙන බැල්ලියකට වුනත් දෙන දානය නිසා, කිසිම අවස්ථාවක ඒ බැල්ලියගෙ කුස පිරිල කරන සෙල්ලමක් දැකල සතුටට හේතුවක් ඇති වෙන්නෙ නෑ. ඒක දකිනකොටත්, මුළා වෙච්ච අයගෙ ලෞකික සම්පත්තිවලට එන මුළා සහගත සතුටු වීමක ආකාරයම පේනවා. මේ විදිහට මෙනෙහි කිරීම තමන්ට වැඩ දායකයි. තමන්ගෙ සිතිවිල්ල දකින දෙවියෙක් බ්‍රහ්මයෙක් වෙනවද, ඔහුටත් වැඩ දායකයි. ආර්ය සිතිවිලි තියෙන, අනුන්ට නොපෙනෙන ආර්ය වූ කර්මස්ථාන වඩන මේ ආර්යාගේ නිවන් මග මාරයාට පේන්නෙත් නෑ. ආර්ය වූ දිවැස් තියෙන අය ඉන්නව නම් ඒ අයට පේනවා.

මේ විදිහට තමන් කරන දාන ආදියේදී පටිච්ච සමුප්පන්නව හිතන්න පුරුදු වුනාම පහසුවෙන් සත්‍යාවබෝධය වෙනවා. ඔහුගේ සිතිවිල්ල කාම, රූප, අරූප කියන කිසි තැනක් කෙරෙහි තණ්හා උපාදාන රහිතයි. විරාග නිශ්‍රිතයි. නිරෝධ නිශ්‍රිතයි. මේ තමයි ආර්ය පැවැත්ම හැඩගහගෙන කටයුතු කරන ආකාරය.

**කෙබඳු හෝ ජාතියක පහල වෙලා ආස්වාදය ලබන කෙබඳු ආකාරයක් හෝ ඇත්ද, ජාතිය සමග බැඳෙමින් කරන මේ හැම වින්දනයක්ම ජරා, ව්‍යාධි, මරණ කියන මේවාට ගොදුරු වෙන බව සිහි කරන්න ඕන. ශෝක කරන, භය ඇති කරන, අඬන, වැළපෙන, කණගාටුවෙන් යුතු, කම්පා සහගත සටන් වදිමින් අභිමානවත් වන... මේ ආදී ලෞකික භවයන්ගේ ඇලීම බැඳීම නිසා වන ස්වභාවයන් දකින කොට, අහනකොට, කුමන ආකාර ජාතියක් කෙබඳු හෝ ජරාවට, ව්‍යාධියට, මරණයට පත් වෙනකොට, ඒක කොහොම හට ගත්ත ස්වභාවයක්ද කියල හොයල බලල, ඒකෙ ඇලීම බැඳීම තිබ්බ්ච්ච ආකාරය හෙවත් භව හේතුව, ඒ විඳින දුක් කම්පා ස්වභාවය තුලින් මනින්න පුරුදු වෙන්න ඕන.**

මේ විදිහට බලනකොට ජාතිවල ඇති තතු වැටහෙන්න පටන් ගන්නවා. ජරාවට, ව්‍යාධියට, මරණයට පත් නොවෙන ජාතියක් නැති ආකාරය වැටහෙන්න පටන් ගන්නවා. ඒ ජාතිවල ආකාරය වටහාගෙන, ඒවා නිකම්ම පහල වුනේ නැති බව වටහා ගනිමින්, පටිච්ච සමුප්පාද ක්‍රම රටාව අනුව අග පටන් මුලට බලන්න හුරු වෙන්න ඕන. එතකොට භව පැවැත්ම ඇති කරන නාම රූප ස්වභාවයත්, තණ්හාව උපාදානය හෙවත් ඇලීම බැඳීම නිසා ඒ නාම ඇසුරට පත් වෙච්ච ආකාරයත්, පත්වෙන ආකාරයත්, මුළාව නිසා, නොවැටහීම නිසා සත්ත්වයා විකෘති මාර්ග අනුගමනය කරන ආකාරයත් මනා සේ වැටහෙන්න ගන්නවා.

කාම සහගත නාමරූප ඇසුර කාම ලෝකයත්, රූප ලෝකවල උපදවන නාම රූප ඇසුර රූප ලෝකවලත්, අරූප ලෝකවල උපදවන නාමයන් ඇසුර අරූප ලෝකවලත් උපත ලබා දෙන බව හේතු ඵල සහිතව වැටහුනාම කාමාවචර පින්වල තතු වැටහෙනවා, රූපාවචර දැහැන්වල තතු වැටහෙනවා, අරූපාවචර දැහැන්වල තතු වැටහෙනවා. ඒවායේ පහල කරන නාමරූපවල තතු වැටහෙනවා. ඒවා අල්ලන තණ්හා උපාදාන වැටහෙනවා. මුළාව අවිද්‍යාව නිසා ඒ මාර්ගවලින් නිවන් හොයපු, සැනසීම හොයපු ආකාරය වැටහෙනවා.

එතකොට තුන් භවය ගැනම කලකිරෙනවා. කල කිරෙන කොට ඇල්ම අත් හැරෙනවා. අත්හැරෙන කොට ඇලෙන්නෙ නැතිව යනවා, බැඳීම නැතිව යනවා. බැඳෙන්නෙ නැතිවෙනකොට, ඇලෙන්නෙ නැතිවෙනකොට මිදෙනවා. මිදුනම යථාවබෝධය සත්‍යය නියම විද්‍යාව අනුව දැනගෙන මිදුන බවත්, අනුශය සිඳුන බවත්, මතු හටගන්න හේතු නැති බවත් දැනගන්නවා. මේකත් උතුම් නිවන් මගක්.

යම් දවසක පූර්ණ වෙච්ච මිදීමට පැමිණුනාද, එතකොට නිරෝධ සමාපත්තියෙත් බැඳෙන්නෙ නෑ. ඒකත් අල්ලන්නෙ නෑ. ජීවත් වෙලා ඉන්නකල් වෙන කළ යුත්තක් නැති වෙනකොට ඒකෙ පිහිටනවා. නමුත් ඒක ශාන්තයි, ප්‍රණීතයි කියල පිහිටීමක් නෙවෙයි. ඒ බව සං. නි. 4 - 425 පිටුවේ එන පංචකංග සූත්‍රයේ මේ විදිහට පෙන්වා තියෙනවා. “සංඥා වේදයිත නිරෝධ සමවත නිරාමිස වූ ඉහලම සුවය මිස සුවස්ථානයක් ලෙස පිහිටිය යුතු තැනක් ලෙස නොපැනවේ”

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

# නොපළ වූ ගුණ කඳ VII



වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේ

අභයරත්නාලංකාරය - 78

## සාසනික දේ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම

වහරක අභයරත්නාලංකාර මහ තෙරුන් වහන්සේගේ නොපළ වූ ගුණ කඳ යටතේ සිය අත්දැකීම් හෙළිදරව් කරන ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේගේ තවත් වටිනා අත්දැකීම් කිහිපයක් මෙවරත් මේ විදිහට සටහන් කෙරෙනවා.

වහරක හාමුදුරුවෝ පැවිදි වෙන්න පෙර උපාසක මහත්තයෙක් විදිහට සාසනික කටයුතු කරමින් ඉන්න කාලෙ මමත් හරි සතුටින් එතුමන් හමුවෙන්න නිතර නිතර යනවා. ඔය කාලෙ තවත් භික්ෂූන් වහන්සේලා දහ දොළොස් නමක් විතර නිතරම වගේ එතුමන් හමුවෙන්න ඇවිත් ධර්ම සාකච්ඡා ආදිය කරනවා. ඒ කාලෙ බ්‍රහස්පතින්දා දවස්වල උදේ වරුවෙ ආශිර්වාද බුද්ධ පූජාව පවත්වලා, හවස සමාධිමය බෙහෙත් ප්‍රතිකර්ම කරල, රාත්‍රි කාලයේ පටන් එළිවෙනකල්ම ධර්ම සාකච්ඡා කිරීම තමයි සිද්ධ කළේ.

ඊට අමතරව මාස 2 - 3 කට වරක් ආශිර්වාද මහා සෙත් පූජාවක් කරනවා. ඒ කියන්නෙ විශේෂ බෝධි පූජාවක්. ඒ වගේ විශේෂ බෝධි පූජා ක්‍රමයක් ලංකාව පුරාම විවිධ පළාත්වල ප්‍රධාන විහාරස්ථාන, පිරිවෙන්වල නායක හාමුදුරුවන් වහන්සේලාගේ ආරාධනාව මත සිද්ධ කළා. ඒ වගේ ආශිර්වාද මහ සෙත් පූජාවක් පැය 8 - 10 ක පමණ දීර්ඝ කාලයක් අරගෙන විශේෂ සමාධිමය ක්‍රමවේදයක් ඔස්සේ තමයි සිද්ධ කළේ. බොහෝ කොටම සමවත් කවි මාලාවකින් තමයි ඒ සෙත් පූජාව කරගෙන ගියේ. ගඟ ගලන්න වගේ එක දිගට කවි ගෙති ගෙතී එනවා. ඒ වගේම පසළොස්වක පෝය සහ මාසෙ පෝය දවස්වලත් දවස පුරාම විවිධ සාසනික කටයුතු සිද්ධ කළා. දවල් වරුවෙ ගිහි පිංවතුන් සඳහාත්, රාත්‍රි කාලයේ පටන් එළිවෙනකල්ම භික්ෂූන් වහන්සේලා සඳහාත් ධර්ම සාකච්ඡාවලට වෙන් කරල තිබුනා.

ඉතින් අපිත් එක්ක ඒ කාලෙ වයස අවුරුදු 10 - 11 ක විතර පොඩි හාමුදුරුවො නමක් හිටියා. උන්වහන්සේත් අබේරත්න උපාසක මහත්තයගෙන් භාවනා කමටහන් අරගෙන භාවනා කරනවා. පොඩි හාමුදුරුවො ඒ දවස්වල අබේරත්න මහත්තය කරන විදිහට පටිභාන බෝධි පූජා කවි වගේ හරි ලස්සන පුංචි දහම් කවි කියනවා. සමහර දවස්වල එක දිගට කවි ගණනාවක්ම කියාගෙන යනවා. ඉතින් අනිත් අය ගිහින් මේ ගැන අබේරත්න උපාසක මහත්තයත් එක්ක කියනවා. මහත්තය වගේම පොඩි හාමුදුරුවොත් වරින්වර කවි කියනවා, මහත්තය නැති දවසට පොඩි හාමුදුරුවන්ටත් සෙත් පූජාව තියන්න පුළුවන් වෙයි නේද කියල සමහරු මහත්තයගෙන් අහනවා. මහත්තයත් ඉතින් ඔව් ඔව් දැන් හොඳයි, මේ කවි රටාව එනව නම් සෙත් පූජාවත් තියන්න පුළුවන් වෙයි, තව ටිකක් උනන්දුවෙන් භාවනා කරන්න, ඉදිරියෙදි ඒ වගේ හැකියාවක් ලැබෙන බවට පෙර නිමිති පහළ වෙන්නෙ ඔය විදිහට තමයි කියල පොඩි හාමුදුරුවන්ට කිව්වා.

එතකොට එතැන හිටපු තවත් හාමුදුරුවො නමක්, මහත්තයා ඇත්තටම ඔය මහත්තය කරන සමාධිමය පටිභාන පූජාව තියන්න පුළුවන් තවත් අය ඉන්නවද කියල ඒ ගැන විවිධ ප්‍රශ්න ඇහුවා. ඒ වෙලාවෙදි මහත්තය කියනවා, එහෙම ඉන්නවා වෙන්න පුළුවන්, මමත් වතාවක් සමාධියෙන් දැක්කා දෙවුර වහලා සිවුර පෙරවගෙන ඉන්න විශේෂ හාමුදුරුවො නමක්, මුහුණ තරමක් රවුම්... ඔය ආදී වශයෙන් නොයෙක් තොරතුරු කිව්වා. එතකොට එතැන හිටපු සියළු දෙනාම එක හාමුදුරුවො නමක් දිහා බලල යම් යම් තීරණවලට බැස්ස බව තේරුනා. මහත්තයත් ඉතින් හිනා වෙලා, ඔව් ඔව් එහෙම වෙන්න පුළුවන් කියල කිව්වා. මොකද සමහර අවස්ථාවල කටට උත්තරය දීල ප්‍රශ්න ඇහුවම, මිනිස්සුන්ගෙන් බේරෙන්න බැරි තැන්වලදි මහත්තයත් ඒක අනුමත කරන අවස්ථා තිබුනා. ඊට පස්සෙ අබේරත්න උපාසක මහත්තය කියනවා, එදා මම ශ්‍රාවක විවරණ අරගන්න වෙලාවෙ සමහර විට තවත් ඒ වගේ පැතුම් පතල කටයුතු කරපු අය එතැන හිටිය නම්, ඒ වගේ අවස්ථාවක් ලැබෙන්න පුළුවන් කියල. එහෙම කියල මහත්තය තමන්ගෙ අත්දැකීමකුත් මේ විදිහට විස්තර කළා.

එක්තරා පිරිවෙනක හරිම හිතුවක්කාර දර දඬු ගති තියෙන පොඩි හාමුදුරුවො නමක් හිටියා. බේරගන්න බැරිම තැන බොහොම අමාරුවෙන් රවට්ටල මගේ ළඟට එක්කගෙන ඇවිත් බණ අහන්න සැලැස්සුවා. එතකොට අර කලින් තිබ්ච්ච සැර පරුෂ දර දඬු ගති නැතිවෙලා බොහොම ශාන්ත කෙනෙක් බවට පත් වුනා. ඊට පස්සෙ පුදුම විදිහට දහම්

අවබෝධ කර ගැනීමේ හැකියාවකුත් ඒ පොඩි හාමුදුරුවන්ට තිබුනා. ධර්ම සාකච්ඡාවලටත් බොහොම පැහැදීමෙන් සම්බන්ධ වුනා. උන්වහන්සේත් බොහොම ලස්සන දහම් කවි දක්ෂ විදිහට එක දිගට කියාගෙන යන්න පටන් ගත්තා. නමුත් ඒ ස්ථානයේ හිටපු භාවනාවට අකමැති තවත් භික්ෂූන් වහන්සේලාගේ සහ දහම් අවබෝධයක් නැති භික්ෂූන් වහන්සේලාගේ සම්මත නීති රීතිවලට යටත් වෙන්න සිද්ධ වීම නිසා, මේ පොඩි හාමුදුරුවන්ට ස්වාධීනව කටයුතු කරන්න අවස්ථාවක් ලැබුනෙ නෑ. ඒ නිසා අර තිබිච්ච සියලු හැකියාවන් යටපත් වෙලා ගියා. අන්තිමට මේ පොඩි හාමුදුරුවන්ට ඈත පළාතක පාළු පන්සලක් බාර දීලා ආරක්ෂා කරගෙන ඉන්න සැලැස්වීම නිසාත්, නිතර නිතර ආගමික පරිසරයෙන් ඈත්වීම නිසාත්, ඒ සියළු හැකියාවන් යටපත් වෙලා ගියා කියල මහත්තය ලොකු විස්තරයක් කිව්වා.

එහෙම කියල අබේරත්න උපාසක මහත්තය මේ පොඩි හාමුදුරුවන්ටත් උපදෙස් දුන්නා. පොඩි හාමුදුරුවන්ට ඔය කවි කියන්න හිතෙන වෙලාවට ඕවා පොතක ලියල තියන්න. දැන්මම ප්‍රසිද්ධියේ ඔය ගැන හැමෝටම කියන්න යන්න එපා. විවිධ හේතු නිසා ඕවට විවිධ බාධා එනවා. ලැබෙන හැකියාවන් නිසා උඩඟු නොවී නිහතමානීව කටයුතු කරන්න... මේ ආදී වශයෙන් උපදෙස් දීම් කළා.

ඔය කාලෙ බොහෝ දෙනෙක් මේ පොඩි හාමුදුරුවො ගැන නිතර නිතර කතා වුනා. තවත් අය උන්වහන්සේට පන්සලේ විවිධ සාසනික කටයුතු බාර දෙන්න පවා කතා කළා. මහත්තය නැති දවසට සෙත් පූජාව තියන්න පුළුවන්, දැනට කොහේවත් නැති පටිභාන පූජාවක් තියන්න පුළුවන් පොඩි හාමුදුරුවො නමක් ඉන්නවා... ආදී වශයෙන් නිතර නිතර කතාවෙනකොට පොඩි හාමුදුරුවන්ට තරමක අහංකාරකමක්, මාන්නයක් ඇවිත් ටිකක් වෙනස් වුනා. ඔහොම ගිහින් ටික කාලයකින්ම ඒ හැකියාවන් සහ භාවනා වැඩීම් සම්පූර්ණයෙන්ම නතර වුනා.

ඉතින් මේ ගැන මහත්තයට ගිහින් කිව්වම, මහත්තය සමාධියෙන් යොමු කරල බලල පොඩි හාමුදුරුවන්ගෙන් අහනවා, බුද්ධ පූජාවට තියපු මොනව හරි දෙයක්වත් වැළඳුවද කියල. පොඩි හාමුදුරුවො නෑ කිව්වම, මහත්තය නැවතත් සමාධියෙන් බලල අහනවා, පොඩි හාමුදුරුවන්ට අමතක වෙලා හරි සමහරවිට බුද්ධ පූජාවට තියපු ටොපියක්, මිදි ගෙඩියක්වත් වැළඳුවද කියල. දෙවෙනි සැරෙත් නෑ කිව්වා. ඊළඟට මහත්තය නැවතත් සමාධියෙන් බලල එක පාරටම කිව්වා, දැන් මම කියන එකට පොඩි හාමුදුරුවො උත්තරයක් දෙන්න එපා නිශ්ශබ්ද වෙන්න කියල. ඔය විදිහට දෙතුන් වතාවක්ම ඉල්ලීම් කළා, පොඩි හාමුදුරුවො මම කියන එකට උත්තර දෙන්න එපා, කියන එක විතරක් අහගෙන ඉන්න කියල. ඊට පස්සෙ මහත්තය මෙහෙම කියනවා. මීට පෙරත් බුද්ධ පූජාවට තියපු අලුව කෑල්ලක් කාල ළමයෙකුට සිද්ධ වෙච්ච විනාසයක් ගැනත් මම කියල තියෙනවා. සමහරවිට අමතක වෙලා බුද්ධ පූජාවට පූජ කරපු මොනවහරි දෙයක් කැවිල ඇති. ටොපියක්, මිදි ගෙඩියක් හරි, නැත්නම් පූජාවට තියපු දෑහැත් විටක් හරි අරගෙන අමතක වීමකින් වළඳල ඇති. ඒකයි මේ බාධකය.

ඔය විදිහට කියල, ඒ බාධාව මගහැර ගන්න, තමන්ම පිණ්ඩපාතෙ ගිහින් තමන්ට ලැබෙන දානයෙන් බුද්ධ පූජාව තියල කමා කරගන්න ක්‍රමයකුත් කියල දුන්නා. ඒ වෙලාවෙ එතැන හිටියා බොහොම දැනුම් තේරුම් තියෙන ඇප උපකාර උපස්ථාන කටයුතු කරන දායක උපාසක මහත්තයෙක්. ඔහු මේ කතාව අහගෙන ඉඳල කිව්වා, මම ඒ කමා කරන එකට පොඩි හාමුදුරුවන්ට උදව් කරන්නම්, මම මගේ ගෙදරින් දානෙ හදල පොඩි හාමුදුරුවන්ට පිණ්ඩපාතෙ බෙදන්නම්, එතකොට පොඩි හාමුදුරුවන්ට ඒ දානයෙන් කැමති දෙයක් කරන්නත් පුළුවන් කියල. එතකොට එතන හිටපු අනෙක් භික්ෂූන් වහන්සේලාත් කිව්වා, පොඩි හාමුදුරුවන්ට තනියෙන් පිණ්ඩපාතෙ ගිහින් බුද්ධ පූජාව තියන එක අමාරු නිසා අපිත් උදව් කරන්නම් කියල. ඉතින් ඒ වෙලාවෙ පොඩි හාමුදුරුවො මේ සියල්ල අහගෙන ඉඳල අන්තිමට කියනවා, මම බුද්ධ පූජාවට තියපු දෑහැත්විට නම් කිහිප දවසක්ම අරගෙන කාල තියෙනව කියල.

එතකොට අබේරත්න උපාසක මහත්තය මෙහෙම කියනවා. ඒක තමයි මම ඒ වෙලාවෙ පොඩි හාමුදුරුවන්ට උත්තර දෙන්න එපා කියල කිව්වෙ. බැරි වෙලා හරි තුන් වතාවක් නෑ කිව්ව නම් තවත් වැරැද්දක් කළා වෙනවා. බුද්ධ පූජාව වැළඳුවා මදිවට බොරු කියපු වරදටත් අහුවෙනවා. ඒක තුන් වතාවක් කිව්ව නම් තීන්දුයි. එතකොට හරි බරපතලයි. ඒකයි මම දෙසැරයක් අහල තුන් වෙනි වතාවෙදි එහෙම උත්තර දෙන්න එපා කිව්වෙ. පොඩි හාමුදුරුවන්ගෙම හොඳට තමයි මම එහෙම කිව්වෙ. නැත්නම් තවත් බාධා කරගන්නවා.

ඉතින් මේ වගේ **පෙර වෙච්ච සිදුවීමක් සමාධියට යොමු කරල බලල ක්ෂණිකවම කියන්න පුළුවන් විශේෂ හැකියාවක් මහණ වෙන්න පෙර ඉඳන්ම වහරක හාමුදුරුවන්ට තිබුනා.** ඒ වගේ දෙයක් කියන එක අබේරත්න මහත්තයට ඒ කාලෙ හරි සුළු දෙයක්. දැන් මේ කියන අවස්ථාවෙදිත් පොඩි හාමුදුරුවො බුද්ධ පූජාවෙන් මොනව හරි අරගෙන වැළඳුව බව සමාධියෙන් යොමු කරල බලල තමයි අර විදිහට ඇහුවෙ. හැබැයි එක පාරටම, ඔබ වහන්සේ මෙහෙම දෙයක් වළඳල තියෙනව කියල කියන්නෙ නැතිව, වටින් ගොඩින් නොදන්න ගානට තමයි ඒක උන්වහන්සේට ඒත්තු ගැන්නුවෙ. මොකද එකපාරටම කිව්ව නම් පොඩි හාමුදුරුවො වික්ෂිප්ත වෙලා ලැජ්ජාවට පත් වෙලා ලොකු අපහසුතාවයකට පත්වෙන්න පුළුවන්. වරද පිළිනොගන්න පුළුවන්. ඒ නිසා ඒ ගැනත් අනුකම්පාවෙන් සළකල බලල තමයි මහත්තය අර විදිහට පැහැදිලි කරල දුන්නෙ. ඒ වගේ අවස්ථාවලදි **කවුරුවත්ම අපහසුතාවයට පත් නොවී උපක්‍රමශීලීව කටයුතු කිරීමේ විශේෂ දක්ෂකමක්, හැකියාවක්, ගුණයක් අබේරත්න උපාසක මහත්තයට එදා ඉඳන්ම තිබුනා. කෙනෙක් අපහසුතාවයට පත් නොවෙන විදිහට, අනෙක් අයටත් ආදර්ශයක් දෙන විදිහට, කෙනෙක්ගෙ වරදක් පෙන්වා දෙන හැටි ක්‍රියාවෙන්ම පෙන්වපු අවස්ථා ඕන තරම් තියෙනවා.**

ඉතින් මේ විදිහට පොඩි හාමුදුරුවන්ව උපක්‍රමශීලීව පිණ්ඩපාතෙ යවල, දානය ලබාගෙන බුද්ධ පූජාව තියල කමා කළාට පස්සෙ නැවතත් යථා තත්ත්වයට පත් වුනා. ඒ කියන්නෙ භාවනාව වැඩෙන්න පටන් ගත්තා. හැබැයි ටික කාලයක් ගියාට පස්සෙ නැවතත් වෙනත් භික්ෂූන් වහන්සේලාගේ ඇසුර නිසාත්, වෙනත් පරිසරයකට යොමු වෙලා බාහිර ශාස්ත්‍රාදිය ඉගෙන ගන්න යොමු වීම නිසාත් ඒ හැකියාවන් යටපත් වුනා. අපි ඒ ගැන අබේරත්න උපාසක මහත්තයගෙන් ඇහුවම මහත්තය මෙහෙම කියනවා. දහම් අවබෝධයක් නැති අයගෙ ඇසුර නිසා තාවකාලිකව ඒ හැකියාවන් යටපත් වුනත්, කවද හරි දවසක

උන්වහන්සේ නැවත භාවනා කරල ආර්ය මාර්ගයට යොමු වෙලා කටයුතු කරනකොට ඔය හැකියාවන් මතු වෙලා එනවා. නමුත් නිහතමානීව කටයුතු කරන්න ඕන. දහම ගුරුවරයා හැටියට තියාගෙන, දහම කියල දෙන කෙනා කල්‍යාණ මිත්‍රයා හැටියට සළකගෙන, සියල්ල අනිච්ච, දුක්ඛ, අනත්ත හැටියට දැකගෙන දැනගෙන කටයුතු කළොත් ඔය හැකියාවන් නැවත වර්ධනය වෙනවා.

ඉතින් මේ වගේ සිදුවීම්වලින් අපිට තේරුනා, බුද්ධ පූජාවට තියපු දේවල් පිළිබඳව අපි කටයුතු කළ යුතු ආකාරය. **අද හුඟ දෙනෙක් ලෙඩ සනීප වෙන්න කියල බුද්ධ පූජාවට තියපු දේවල් මිනිස්සුන්ට කන්න දෙනවා. බුද්ධ පූජාවට තියපු පහන්වල තෙල් ඔළුවෙ ගාගන්න කියනවා. මේ ආදී වශයෙන් නොයෙක් දේවල් මේ කාලෙ කියනවා. තම තමන්ගෙ මත ප්‍රකාශ කරල බොහෝ දෙනෙක් නොමගට යවනවා. නමුත් මේවායේ තියෙන බරපතලකම ඒ අය දන්නෙ නෑ.**

**බෝධියට පූජා කරපු කොඩියක් පුද්ගලිකව පරිහරණය කිරීමෙන්, නොකළ යුතු ආකාරයෙන් සඟ සතු දෑ පරිහරණය කිරීමෙන් විවිධ ප්‍රේත අත්බැව් ලබල බුද්ධාන්තර ගණන් අප්‍රමාණ දුක් විඳින්න සිද්ධ වෙච්ච කතා පුවත් දහම් පොත්පත්වල ඕන තරම් සඳහන් වෙනවා.** මේවා පිළිබඳවත් දැන් ඉන්න සමාජය නැවත නැවත සිහිපත් කරන්න ඕන.

බුද්ධ පූජාවට වුනත් අපි පූජා කරන සියල්ල පූජා කළාට පස්සෙ ඒවායේ අයිතිය සාසනය සතුයි. පූජාවෙන් පස්සෙ ඒවා හිතුමතේට විසි කරල දැමීම ගැලපෙන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ අවස්ථාවල විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන. වැඩි හොඳට කරන්න ගිහින් හිතා ගන්නත් බැරි මහා විනාසයන් කරගන්න අවස්ථාත් තියෙනවා. ඒ නිසා තමයි බුද්ධ සාසනයක් ලෝකයේ මතු වුනාම, හේතු වාසනා තියෙන වැඩි පිරිසක් දහම් දැකල නිවන් අවබෝධ කරගන්නව වගේම, තවත් විසාල පිරිසක් පව් කරගෙන මහා දුගති අත්බැව්වලට යනව කියන්නෙ. මොකද **සාසන න්‍යාය හරි බරපතලයි. දැලි පිහියෙන් කිරි පැණි කනව වගේ තමයි. කමා කරගත්තෙ නැත්නම් සැහෙන කාලයකට ගොඩ එන්න බැරි විපාක හදා ගත්ත වෙනවා. ඒ නිසා සාසනික කමාවත් කරගෙන ආයති සංවරයේ පිහිටල කටයුතු කළ යුතුයි.**



**අපි මල් පූජා කරන ආසනයක් වුනත් සුද්ධ පවිත්‍ර කරනකොට, ගෞරවයෙන් වැඳල නමස්කාර කරල තුණුරුවන්ගෙන්ම අවසර අරගෙන කරන ක්‍රමයක් තියෙනවා.** මේ මල් බඳුන්, මල් ආසන, බුද්ධ පූජා භාජන... ආදිය ඉවත් කරල පිරිසිදු කරල නැවත පරිහරණය සඳහා සුදුසු විදිහට ගන්න අවසර ලැබේවා කියල අවසර අරගෙන තමයි ඒවා ආසනවලින් ඉවත් කරන්න ඕන. ඊට පස්සෙ ඒ භාජනවල තියෙන සියලු දේවල් ගැලපෙන තැනකට ගෙනිහින් භාජනවලින් නැවත ඉවත් කරනකොටත්, සතුන්ට කතා කර කර කන්න දාන්න සුදුසු නෑ. එතනදිත් අපි අදහස් කරන්න ඕන, මේ භාජන සුද්ධ පවිත්‍ර කර ගැනීම සඳහා මේ භාජනවල තියෙන දෑ ඉවත් කරනවා කියල. ඒ අදහස හිතට අරගෙන තමයි ඒවා ඉවත් කරන්න ඕන. එතකොට ඒ ආහාරපාන ආදිය සතුන් ඇවිත් කන අවස්ථාත් තියෙන්න පුළුවන්. හැබැයි ඒ වගේ වෙලාවට ඒ සතුන් පන්නා දැමීම ගැලපෙන්නෙත් නෑ. කතා කරල අඬ ගහල සතුන්ට කන්න දීම ගැලපෙන්නෙත් නෑ. අපි ඒ දෙකටම සම්බන්ධ නොවී ඉන්න ඕන. ඉතින් ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය මේ කාරණා දෙකේම තියෙන බරපතලකම අපිට පැහැදිලි කරල දුන්නා.

මම දන්න අපේ දායක ගෙදරක ඒ කාලෙ මහා සැර බල්ලෙක් හිටියා. කිහිප දෙනෙක්වම හපා කාල ප්‍රතිකාර පවා කළා. ඉතින් ඔය ගෙදරට දවසක් බොහොම වැඩිහිටි භික්ෂූන් වහන්සේ නමක් වැඩියා. ඒ ගෙදර ඉන්න බල්ලගෙ සැඩ පරුෂකම, හපා කන බව කිව්වම මේ හාමුදුරුවො කියනවා, ඕකට හොඳ බෙහෙතක් මගේ ළඟ තියෙනව කියල. ඉතින් ඒ ගෙදර අය බොහොම සතුටින් බෙහෙත ඇහුවම හාමුදුරුවො කියනවා, හා ඒවා එහෙම ලේසියෙන් කියන්නෙ නෑ, ඕන නම් මම බෙහෙත කරල පෙන්වන්නම්, හොඳ දම්වැලකින් බල්ල පන්සලේ බැඳල යන්න, සතියකින් විතර අරගෙන යන්න එන්න කියල. ගෙදර අයත් හරි සතුටින් ඒ ගමන්ම බල්ලව දම්වැලකින් බැඳල අරගෙන ගෙනිහින් පන්සලේ මල් ගහක බැඳල ගියා. හාමුදුරුවො දිනපතාම බුද්ධ පූජාව තියල ටික වෙලාවකින් අස් කරගෙන ඇවිත් අර බල්ලට කන්න දෙනවා. සතියක් විතර යනකොට බල්ලට බුරන්නත් බෑ. සැරත් නෑ. ඕනම කෙනෙකුට ගිහින් ඔළුව අතගාන්න අල්ලන්න වුනත් පුළුවන්. ඒ තරමටම බල්ලා හීලෑ වෙලා.

මේ සිදුවීම සිද්ධ වෙලා දැනට අවුරුදු 25 කටත් වැඩියි. අපිට මේ කතාවෙන් පේනවා, බත් මාළු පිනි බෙදල විහාර මන්දිරයේ මල් ආසනය උඩ තියල විනාඩි 15 - 20 කින් විතර නැවත ගෙනිහින් බල්ලට කන්න දුන්නම දින 7 - 8 ක් ඇතුලත බල්ලගෙ ඇතිවෙච්ච වෙනස. වෙන දවස්වලට ඌට කන්න දෙන්නෙත් බත් මාළු පිනිම තමයි. විහාර මන්දිරයේ මල් ආසන මත තියල ගෙනිහින් දුන්නෙත් බත් මාළු පිනිම තමයි. ඒත් බලන්න මේ දෙකේ වෙනස කොච්චර පැහැදිලිද කියල. **සාසනයට පූජා කරපු දානයේ පවා යම් පරිවර්තනයක් සිද්ධ වෙන** බව මේ කාරණයෙන් පැහැදිලි වෙනවා. (මේ ගැන තවත් තොරතුරු දැන ගැනීමට හෙළ බොදු පියුම 29 කලාපය බලන්න)

මේ විදිහට බුද්ධ පූජාවට තියන ආහාරපාන ඇතුළු අනෙකුත් දේවල් බල්ලන්ට හෝ වෙනත් සතුන්ට හෝ **කතා කරල කන්න දීම හරි භයානකයි. නිකමටවත් අත්හදා බලන්නවත් දෙන්න එපා.** මුළු ජීවිත කාලයම බුද්ධ පූජාව සඳහා වැඩිපුර බෙදල සතුන්ට දීපු, අනෙක් අයටත් ඒ සඳහා උපදෙස් දීපු හාමුදුරුවන්ට අන්තිමට සිද්ධ වුනේ මොකක්ද? අවසානයේ උන්වහන්සේගෙ පන්සලට හොරු පැනල හාමුදුරුවන්ව ඇදගෙන ගිහින් කළු ගල් තලාවක් උඩ දාල තවත් කළු ගලකින් ඔළුව තලල තමයි ජීවිතය අවසන් වුනේ. ඒ බව ඒ කාලෙ ප්‍රධාන පුවත්පත්වල පවා පළ වුනා කියල මට ආරංචි වුනා. ඒ නිසා බුද්ධ පූජාව ගැන, සඟ සතු දේ ගැන වඩාත් සැළකිලිමත් වෙන්න ඕන.

අපි කොහොම කිව්වත් බුද්ධ පූජාවට තියල ඉවත් කරන දේවල් සතෙකුට නිකම්ම කන්න ලැබෙන්නෙත් නෑ. ඒකත් හේතුවක ඵලයක්. ජීවත් වෙලා ඉන්න කාලෙ සාසනයට අපවාද කරල අගෞරව කරල, වෙහෙර විහාර දාගැබ් විනාස කරල, අති දීර්ඝ කාලයක් දුගතිවල උප්පත්තිය ලබල දුක් විඳල එයින් නිදහස් වෙලා, ඒ විපාකයේ ශේෂ මාත්‍රයක් හරි ඉතිරි වීමේ ප්‍රතිඵලයක් හැටියට බලු බවට පත්වෙලා, නැවතත් ඒ වගේ පූජාවන්ට වෙන් කරපු දේවල් කැවිල, නැවතත් දුගතියට යන්න ලැබෙන විදිහට තමයි ඒ වගේ සතුන්ට බොහෝ කොටම එහෙම හිමිකමක් ලැබෙන්නෙත්. අපිට ඉතින් සියලු දෙනාම දුකින් නිදහස් කරන්න බෑ. තම තමන්ම නැණ නුවණින් කල්පනා කරල බලල තම තමන්ගෙ විමුක්තිය පිණිස තම තමන්ම කටයුතු කරගන්න ඕන.

තවත් අපිට නිතර දකින්න ලැබෙන දෙයක් තමයි, සඟ සතු කරල දානය දෙන අවස්ථාවලදි භික්ෂූන් වහන්සේලා පවා ආගමික වතාවත් අවසන් කරල දානය වළඳන්න සූදානම් වෙලා, දානෙ මුල් කොටස එක පිඟානකට එකතු කරගෙන ගිහින් සතුන්ට කන්න දාන්න කියනවා. ඒකත් මහා භයානක වැඩක්. **තමන් වෙහෙස මහන්සි වෙලා හරි හම්බ කරගත්ත ධනය විය පැහැදම් කරල, දිවා රාත්‍රී නිදි වරාගෙන, සමහරවිට ලුණු ඇඹුල්වත් බලන්නෙ නැතිව සකස් කරගත්ත දානය, භික්ෂු සංඝයා වැඩම කරවගෙන බුද්ධ පූජාව පවත්වල, තුන් කල් වැඩ වාසය කරන මහා සංඝ රත්නයේ ගුණ කියල සඟ සතු කරල පූජා කරල, භික්ෂූන් වහන්සේලා පරිහරණය කරන්නත් පෙර තිරිසන් සතුන්ට කන්න දීම කොච්චර නම් ඥාන ගෝචරද කියල විමසල බලන්න ඕන.**

සාමණේර බණ දහම් පොතේ එන දින චරියාවේ සඳහන් "තමන්ගෙ පාත්‍ර පර්යා පන්නය උන්ට දන් දීල කිසිවක් උන් නොගතහොත් බත් සරලුවක්වත් දන් දීල..." කියන කියමන වැරදියට තේරුම් අරගෙන තමයි මේ විදිහට දානයේ මුල් කොටස තිරිසන් සතුන්ට දෙන්න පුරුදු වෙලා තියෙන්නෙ. නමුත් මේ කියමනෙන් අදහස් කරන්නෙ, තමන් පිණ්ඩපාතෙ ගිහින් ලැබුන දානය පන්සලට අරගෙන ඇවිත්, පන්සලේ අනෙක් භික්ෂූන් වහන්සේලාටත් පිළිගන්වල, උන්වහන්සේලා මොකක්වත් ගත්තෙ නැත්නම් බත් අහුරක් හරි උන්වහන්සේලාට දන් දෙන්න කියල. එහෙම නැතිව ඒ දානයේ මුල් කොටස සතුන්ට කන්න දෙන්න කියන එක නෙවෙයි. සිල් සමාදන් වෙච්ච සිල්වතුන් පවා දානය වළඳන්න පෙර, තමන්ගෙ අතට ලැබුන දානයේ මුල් කොටස තිරිසන් සතුන්ට දාන්න පුරුදු වෙලා තියෙන්නෙත් මේ ආකාරයටමයි.

භික්ෂු සංඝයා උදෙසා වේවා, සීල සමාදානයේ යෙදුන පින්වතුන් උදෙසා වේවා, ලැබිච්ච දානයේ මුල් කොටස පරිහරණය කරන්න පෙර සතුන්ට දෑමීම ගැලපෙන්නෙ නෑ. කරනව නම් කළ යුත්තේ, තම තමන්ගෙ කොටසින් එකතු කරන ආහාර ටික ඉස්සෙල්ලම බුද්ධ පූජාවට තැබීම. එහෙම නැත්නම් එතැන ඉන්න සීලයෙන් ගුණයෙන් වැඩි හිමි නමකට හෝ ගුණවතෙකුට හෝ පිළිගැන්වීම. ඉතින් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, අපි බුද්ධ පූජාව තියල සඟ සතු දානයේ අපේ කොටසින් නේද පරිහරණයට පෙර සතුන්ට වෙන් කරන්නෙ, ඒකෙ ඇති වැරද්ද මොකක්ද කියල. නමුත් සංඝයා වහන්සේලා තමන්ට ලැබිච්ච දානයේ මුල් කොටස නැවත බුද්ධ පූජාවට පූජා කළාම ඒකත් විශේෂයි. **මෙතනදි වරදක් වෙන්නෙ තුන් කාලයටම අයත් මහා සංඝ රත්නයට පූජා කරල, අවසානයේ තුන් කාලයම නියෝජනය කරන අය ඒ වෙනුවෙන් පෙනී ඉඳල ඒ දානය බාර අරගෙන, ඒකෙ මුල් කොටස වෙන් කරල තිරිසන් සතුන්ට කන්න දීම. එතකොට තිරිසන් සත්තු ඒ අයටත් වඩා විශේෂයිද කියල තම තමන්ම විමසල බලන්න ඕන.**

ජීවත් වෙලා ඉන්න කාලෙ තිරිසන් විදිහට හිතල, තිරිසන් විදිහට කතා කරල, තිරිසන් විදිහට වැඩ කරල, ඒකෙ ප්‍රතිඵලයක් විදිහට තමයි තිරිසන් සත්තු වෙලා ඉපදිලා ඉන්නෙ. දැන් අපි මොකද කරන්නෙ, වැඩි හොඳට කියල සාසනික දේවල්වල මුල් කොටස සතුන්ට කන්න දීල ඊටත් වඩා මහ විනාසයක් කරගන්න උදව් කිරීමක්, අනුබල දීමක් කරනවා.

සඟ සතු දාන පින්කම් කරන සමහර තැන්වල, වැඩිහිටිම භික්ෂූන් වහන්සේ සතුන්ට දෙන්න කියල දානයේ මුල් කොටස එකතු කරන්න පිඟානක් ගේන්න කිව්වම, සමහරවිට දහම් අවබෝධයක් තියෙන අය හිටියත් ඒ අයටත් ඒ අවස්ථාවෙ බේරෙන්න බැරිවෙන්න පුළුවන්. නමුත් අනුන්ගෙ හිත් හදන්න ගිහින් තමන් මහ විනාසයක් කරගන්න අවශ්‍ය නෑ. ඒ වගේ අවස්ථාවල ඒවා තෝරල පැහැදිලි කිරීම් කරන්නත් බෑ. සමහර සම්මත උගත් අයත් මේ වගේ දේවල් කිව්වට පිළිගන්න සූදානමකුත් නෑ. ඒ නිසා අපි ඒ වගේ අවස්ථාවල නුවණින් කල්පනා කරල අවස්ථානුකූලව කටයුතු කරන්න ඕන.

ඒ නිසා තමන්ට ඒ වගේ අවස්ථාවක් උදා වුනොත්, තම තමන් කටයුතු කළ යුතු ආකාරය දැනගන්න ඕන. **දහම් මාර්ගයේ ගමන් කරනකොට කෙනෙක්ගෙ හිත් රිදවල කටයුතු කිරීමත්, කාලයක් තිස්සේ පවත්වාගෙන ආ සිරිත් විරිත්, ඇවතුම් පැවතුම් එකපාරටම කඩා බිඳ දැමීමත් නොකළ යුතුයි.** එහෙම කිරීමෙන් දහම් අවබෝධයක් නැති අය තවත් අපවාද කරගෙන මහ විනාසයක් කරගන්නවා. ඒ නිසා තම තමන් බුද්ධිමත්තව කටයුතු කළ යුතුයි. සඟ සතු දාන පිංකමකදි ඒ වගේ අවස්ථාවකට ඔබට මුහුණ දෙන්න සිද්ධ වුනොත්, භික්ෂූන් වහන්සේලාට ඉහලින් කටයුතු නොකර, ද්වේශයෙන් පීඩාවටත් පත් නොවී ඒ කටයුත්තට මුහුණ දෙන්න ඕන.

ඒ වගේ අවස්ථාවක අදහස් අරගෙන කටයුතු කරන්න ඕන මේ විදිහට. **මහා සංඝ රත්නයේ ඉල්ලීම** මත මම මේ දේ කරනවා කියන හැඟීමක් ඇති කරගෙන, බොහොම ගෞරවයෙන් සතුටින් පිරිසිදු පිඟානක්, භාජනයක් වගේ දෙයක් අරගෙන, තමන් පිණ්ඩපාතෙ යන ආකාරයෙන් භික්ෂූන් වහන්සේලා ළඟට ගිහින් දෙන දෙයක් ලබාගෙන, ඒක එකතු කරගෙන ගිහින් අනිත් අයට



**නොදනෙන ආකාරයෙන් හෝ බුද්ධ පූජාවක් වශයෙන් පැන් පූජාවක් සමග පූජා කිරීම. එතකොට භික්ෂූන් වහන්සේලාගේ දාන කොටසින් ලබාග න්න දානයෙන් බුද්ධ උපහාර පූජාවක් සිද්ධ කිරීම නිසා බුද්ධ පූජාවෙන් ලැබෙන පින ලබාගන්නත් පුළුවන්. ඒ සඳහා උන්වහන්සේලාටත් තමන් උපකාරයක් කළා වෙනවා. තමන් වරදකට අහුවෙන්නෙත් නෑ.**

විශේෂයෙන් සඟ සතු දානයේ මුල් කොටසත්, සිල් සමාදන් වෙච්ච අවස්ථාවේ උපාසක උපාසිකාවන්ට ලැබෙන දානයේ මුල් කොටසත් පරිහරණය කරන්න පෙර තිරිසන් සතුන්ට දැමීම මහා වරදක්. ඒ වගේ දෙයක් තමන්ට වඩා සීලයෙන් ගුණයෙන් වැඩිහිටි උතුමෙකුට දීම වඩාත් ගැලපෙනවා. ඒක විශේෂයි. අනතුරුව තමන්ගෙ කොටස වුනත් ප්‍රත්‍යවේක්ෂා කරල සිහි නුවණින් පරිහරණය කරන්න ඕන. තම තමන් සිල්වතුන් ගුණවතුන් වෙනුවෙන් පෙනී ඉඳල ලබාගන්න දේවල්වල ඉතිරි කොටස වුනත් තිරිසන් සතුන්ට කතා කරල කන්න දෙන්න සුදුසු නෑ. ඒකත් භාජන සුද්ධ පවිත්‍ර කර ගැනීම සඳහා ඉවත් කරන අදහසින් ඉවත් කරන්න ඕන.

**තමන්ගෙ ගෙදර තමන් කෑමට උයාගන්න ආහාරයේ වුනත් මුල් කොටස සතුන්ට කන්න දෙන්න හොඳ නෑ. ඒකෙ මුල් කොටසත් ගෙදර ඉන්න සිල්වතුන්ට ගුණවතුන්ට දෙන්න ඕන. ඊළඟ කොටස වැඩිහිටි උතුමන්ට, මව්පියන්ට දෙන්න ඕන. ඒ තමයි ආදී පැරණි හෙළ සිරිත.**

ඒ කාලෙ ගෙදර වැඩිහිටියන්, මව්පියන් ඉන්නව නම්, ඒ අයගෙන් අහල ඒ අය කන්න කැමති දෙයක් උයල පිහල ඒ අයට පිළිගන්වල ඉතිරි කොටස තමයි තමන් පරිහරණය කළේ. නමුත් අද කරන්නෙ ඒකෙ ප්‍රතිවිරුද්ධ පැත්ත. ගෙදර ඉන්න පොඩිම එකාගෙන් අහල කන්න කැමති දේ උයල, ගෙදර ඉන්න සතුන්ටත් කන්න දීල, පොඩි ළමයින්ටත් කන්න දීල, සියලු වැඩ අවසන් කරල ඉතිරි වෙච්ච කොටස තමයි ගෙදර ලෙඩ ඇඳේ ඉන්න වයෝවෘද්ධ මව්පිය වැඩිහිටි ආදීන්ට දෙන්නෙ. ඒ අය ඒවා කාල බීල තිබුනෙ නැත්නම් බැන බැන අස් කරල දානවා. මොන කරදරයක්ද මන්ද, දෙන දෙයක් කන්නෙත් නෑ, මහ වදයක් තමයි අපිට දෙන්නෙ කියල ඔය විදිහට තමයි අද බොහෝ දෙනෙක් කටයුතු කරන්නෙ. ඉතින් මොනවා කරන්නද? අපේ හෙළ සිරිත් විරිත්, ඇවතුම් පැවතුම් සියල්ලක්ම අද වෙනකොට වෙනස් වෙලා. ශ්‍රී සද්ධර්මය යටපත් වෙච්ච කාලවලදී සිද්ධ වෙන දේවල් තමයි මේ.

ඉතින් වහරක අභයරතනාලංකාර හාමුදුරුවො මහණ වෙන්නත් පෙර මේ ගැන කතා කරන අතරෙ අපිට කිව්ව දෙයක් තිබුනා. රටේ ලෝකෙ අය, දහම් අවබෝධයක් නැති අය මේවා කියනකොට මට බනියි. මේව යකාගෙ බණනෙ, බුද්ධ පූජාව තියල පිඟානට බෙදාගත්තු කොටසින් ටිකක් සතුන්ට කන්න දුන්නම මොකක්ද වෙන වැරැද්ද, තමන් කන පිඟානෙන් අතින් අරගෙන බුද්ධ පූජාව නැවතත් තියන සිරිතක් තියෙනවද... ඔය ආදී වශයෙන් දොස් කියන්න පුළුවන්. මට බැන්නත් කමක් නෑ. මම කියන්නෙ ධර්මානුකූල දෙයක් විතරයි. අනුගමනය කිරීම හෝ නොකිරීම මගේ වැඩක් නෙවෙයි. මම කියන දෙය එක් කෙනෙක් තේරුම් ගත්තත් මට ඒ ඇති. සියලු දෙනාටම ධර්මය කියල දීල තේරුම් කරල දෙන්නත් බෑ. ධර්මය වුනත් එහෙම හැමෝටම තේරුම් ගන්න හැකියාවක් නෑ. බොහොම සීමිත පිරිසක් තමයි ඇත්ත තත්ත්වයෙන් ධර්මය තේරුම් කරගන්නෙ. කෙනෙක් අවම වශයෙන් පංච දුශ්චරිතයෙන් වෙන් වෙලා, සාසනික පිං දහම් කුසල් කරමින්, දහම් මාර්ගය අනුගමනය කරන ඇත්තන්ට ඇප උපස්ථාන කටයුතු කරමින්, සුචරිත දහම් පුරුදු පුහුණු කරමින් කටයුතු කරන්න ඕන. එහෙම නැතිව, මම කොහොමද හැමෝටම ධර්මය කියල තේරුම් කරල දෙන්නෙ?...

මේ විදිහට කරුණු කාරණා පිළිබඳව වහරක අබේරත්න උපාසක මහත්තයත් එක්ක පැය ගණන් කරපු සාකච්ඡාවල කොටස් තමයි මේ තැන් තැන්වලින් කිව්වෙ. මේ වගේ කරුණු පිළිබඳව වැඩිපුර කාලයක් ධර්ම සාකච්ඡා කරපු අයට නම් ඒ තරම් ගැටළු නැති වේවි. නමුත් අළුත් අයට නම් මේ ලිපිවලින් තව තවත් ප්‍රශ්න මතුවෙන්න පුළුවන්. ඒකට හේතුව ඒ අයගෙ අඩුපාඩුවක් නෙවෙයි. ඒක අපේ අඩුපාඩුවක් නිසා සිද්ධ වෙන්න පුළුවන්. මොකද අති දීර්ඝ සාකච්ඡා මේ වගේ කෙටි කාලයකින් ඉදිරිපත් කිරීම අපහසුයි. කොහොම වුනත් මම මේ කියන්නෙ මගේ පුද්ගලික අදහස්ම නෙවෙයි. දීර්ඝව සාකච්ඡා කරපු අවස්ථාවල මම ඒවා තේරුම් ගත්ත ආකාරයට, අවබෝධ කරගත්ත ආකාරයට තමයි ඔබේ යහපත සඳහා මේ කරුණු කියන්නෙ. මේ කරුණුවලින් ධර්මානුකූලව නිවැරදි විය යුතු තැන් තියෙනව නම්, මේ සඟරාව මගින් හෝ පුද්ගලිකව හෝ හේතු සාධක ඇතිව අපි සහ සෙසු ලෝකයා වෙනුවෙන් දැනුවත් කරනව නම් ඒක ඉතා අගය කොට සළකනවා.

(මේ පිළිබඳව වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ අත්දැකීම් හා විග්‍රහයන් සහිත තවත් අමතර පැහැදිලි කිරීම් ලබන කලාපයෙන් බලාපොරොත්තු වන්න)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළයේ අති උත්තම පෙරහැර මංගල්ලය සමග පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ පිළිම වහන්සේ තැන්පත් කිරීම, පහන් ගෙය විවෘත කිරීම සහ පහන් ආලෝක පූජාව

**මාර්තු මස 16 දින වැඩසටහනේ පෙළ ගැස්ම**

ප. ව. 4.00 : පළමු සදහම් ධර්ම දේශනය රුවන්වැලි සෑ රදුන් අභියස
ප. ව. 6.00 : පහන් පූජාව ආරම්භ කිරීම
ප. ව. 6.30 : පෙරහැර ආරම්භය
ප. ව. 6.46 : සුබ නැකතට තුන් ලොව දිනූ ගුණයට අධිෂ්ඨාන ධජ පාඨකය එසවීම.
ප. ව. 7.30 : වට තිරය පැළඳ වීම සහ විදුලි බුබුළු ලක්ෂයක උතුම් පූජාව සිදු කිරීම.
ප. ව. 10.00 : දෙවන ධර්ම දේශනාව

**මාර්තු මස 17 දින වැඩසටහනේ පෙළ ගැස්ම**

පෙ. ව. 12.30 : ජය සක් හේවිසි නාද ශබ්ද පූජාව
පෙ. ව. 1.00 : කර්මස්ථාන භාවනාව
පෙ. ව. 03.00 : පිච්ච මල් ලක්ෂයේ පූජාව
පෙ. ව. 04.15 : තෙවන ධර්ම දේශනාව
පෙ. ව. 06.00 : උදෑසන කිරිපිඬු පූජාව රුවන්වැලි මහා සෑ රදුන්ට පූජා කිරීම
පෙ. ව. 06.30 : ජය සිරි මහා බෝධීන් වහන්සේට හීල් දානමය පිංකම සිදු කිරීම
පෙ. ව. 07.00 : "සැඟවුනු බොදු මග කල එළි දකී" දහම් පොත දොරට වැඩුම "සැඟවුනු බොදු මග කල එළි දකී" විශේෂ සදහම් දේශනා සංයුක්ත තැටි බෙදා දීම
පෙ. ව. 07.30 : දානමය පූජාවන් සිදු කිරීම
පෙ. ව. 08.00 : පිළිම වහන්සේ තැන්පත් කළ රිය පෙරහැර පිටත් වීම
පෙ. ව. 10.30 : ශ්‍රාවස්තිපුර
පෙ. ව. 11.30 : තලාව
ප. ව. 1.00 : තඹුත්තේගම
ප. ව. 2.00 : ගල්ගමුව
ප. ව. 4.00 : ඇල්ල පන්සල

පහන් පූජාව,
පළමු ධර්ම දේශනය,
භාවනා වැඩසටහන,
දෙවන ධර්ම දේශනය

**මාර්තු මස 18 දින උදෑසන**

උදෑසන කිරි පිඬු පූජාව සහ සාංඝික දානය
පිළිම වහන්සේ රැගත් රිය පෙරහැර ගමන් ආරම්භ කිරීම

පාදෙනිය දළදාගම, වාරියපොළ, කුරුණෑගල, පොල්ගහවෙල, අඹේපුස්ස, වරකාපොළ, පස්යාල, නිට්ටඹුව, අත්තනගල්ල, ඌරපොළ, වහරක





# නිවන් පූර්ණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

03 කොටස

අසංඥ භාවනාවක් අවිතක්ක අවිචාර සමාධිය විදිහට වර්තමානයේ අත්තනෝමතයක් විදිහට අරගෙන අර්ථ දක්වන අවස්ථා ගැනත් අහන්න ලැබෙනවා. බුදු සසුනෙන් බැහැර අබුද්ධෝත්පාද කාලවල පවා යෝගීන් වඩන භාවනා ක්‍රමයක් තමයි සංඥා විරාග භාවනාව කියන්නෙ. අරමුණු සංඥා කිසිවක් ගන්නෙ නැතිව නොයෙක් අරමුණුවල සිත ගමන් කරනකොට, ඒවායෙන් සිත මුදවගෙන මනස අරමුණු නැතිව නිහඬව ඉන්න පුරුදු කරන එක තමයි මේ භාවනාවෙන් කරන්නෙ. තමන්ට එන හැම සිතිවිල්ලකින්ම සිත මුදවා ගැනීම තමයි අසංඥ භාවනාවෙදි කරන්නෙ. ඒ කියන්නෙ සියලු සිතීම් නවත්වන්න මනස හුරු කිරීම, කිසිම අරමුණක් එන්නෙ නැතිව ඉන්න මනස පුරුදු කිරීම. මේ ක්‍රමය මමත් වසර 12 ක් විතර පුරුදු කරල තියෙනවා. ඒ තුලිනුත් ධ්‍යාන සුව වගේ නිදහස් සුවයක් ඊට අදාළ සමාධිය වැඩෙන කොට අත්දකින්න පුළුවන්. වසර 25 ක් පමණ මේ භාවනා ක්‍රමය වඩල අසංඥ සමාධිය පූර්ණ කරගත්ත ස්වාමීන් වහන්සේ නමක් පවා මම දීර්ඝ කාලයක් ඇසුරු කරල තියෙනවා. උන්වහන්සේ අසංඥ සමාධියට නිරෝධය කියල රැවටිලා හිටියෙ.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ට මේ ස්වාමීන් වහන්සේ ගැන මම දවසක් මතක් කරපු වෙලාවක, උන්වහන්සේ සමාධියෙන් යොමු කරල බලල ඒ වගේ අසංඥ සමාධියක් ඒ හිමියන්ට තියෙන බව ප්‍රකාශ කළා. උන්වහන්සේ අපවත් වුනාට පස්සෙත් වහරක හාමුදුරුවො සමාධියෙන් යොමු කරල බලනකොට, කාම ලෝකයේ කිසි තැනක උපත ලබල නැති බවත්, සසර ගමන අවසන් වෙලා නැති බවත් අපිත් එක්ක කියල තියෙනවා.

සංඥා විරාග භාවනාව මගින් අසංඥ සත්ත සමාධිය පූර්ණ කරගන්න කෙනෙක්, මහා කල්ප 500 ක් ආයුස තියෙන චතුර්ථ ධ්‍යාන බ්‍රහ්ම තලයට අයිති අසංඥ සත්ත බ්‍රහ්ම ලෝකයේ උපදිනවා. මේ වගේ අනාර්ය භාවනා ක්‍රමයක් තමයි අද අවිතක්ක අවිචාර සමාධි කියල රැවටිලා ඇතැම් අය වඩන්නෙ.

මේකෙ තියෙන බරපතලම වැරැද්ද තමයි, ධ්‍යාන නොවැඩෙන අයට ධ්‍යාන ලබා ගන්නා ක්‍රමයක් විදිහට අවිතක්ක අවිචාර සමාධි වඩන්න කීම. අභිධර්ම පිටකයේ ධම්ම සංගනී, විභංග ප්‍රකරණවල අවිතක්ක අවිචාර සමාධිය විග්‍රහ කරල තියෙන්නෙ ධ්‍යාන ලබන ක්‍රමයක් විදිහට නෙවෙයි, ධ්‍යාන ලාභීන්ගේ සමාධියක් විදිහට.

පෙටකෝපදේශයේ 321 පිටුවේ සවිතක්ක සවිචාර ආදී සමාධි තුන මේ විදිහට විස්තර කරල තියෙනවා.

අලෝභ කුසල මූලයෙන් ශ්‍රැතමය ප්‍රඥාව පූර්ණ කරගන්නවා. ඒ කියන්නෙ සත්පුරිස උතුමෙකුගෙන් ධර්මය අහල සුතමය ඥානය ඇති කරගන්නවා. මේ විදිහට සුතමය ඥානය සම්පූර්ණ කරගෙන සවිතක්ක සවිචාර සමාධිය හෙවත් ආර්ය ප්‍රථම ධ්‍යානය සම්පූර්ණ කරගන්නවා. ඔහු අධිචිත්ත සික්ෂාව, සමථ නිමිත්ත, නෙක්ඛම්මය, අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය (සෝවාන් මාර්ගය) නෙක්ඛම්ම උපවිචාරය පූර්ණ කරගන්නවා. මේවා පිරෙන කොට කාමයන් පසුපස හඹායාම අඩුවෙලා සමාධි කාමේසනාව දුරුකරල සමාධි ස්කන්ධය සම්පූර්ණ කරගන්නවා.

අදෝස කුසල මූලය හේතුකොටගෙන චින්තාමය ප්‍රඥාව පුරනවා. ඒක සම්පූර්ණ වෙනකොට අවිතක්ක විචාර මාත්‍ර සමාධිය හෙවත් පංචම ධ්‍යාන නය ක්‍රමය අනුව රූපාවචර ආර්ය ද්විතීය ධ්‍යානය පූර්ණ කරගන්නවා. ඒකෙන් අධි සීල සික්ෂාව, උපේක්ෂා නිමිත්ත, අව්‍යාපාද විතර්කය, අඤ්ඤින්ද්‍රිය (සෝවාන් ඵලයේ සිට අරිහත් මාර්ගය දක්වා ඇති මගඵල) අව්‍යාපාද උපවිචාරය පුරමින් භවේසනාව හෙවත් භව තණ්හාව දුරු කරමින් සීලස්ඛන්ධය පූර්ණ කරගන්නවා.

අමෝහ කුසල මූලයෙන් භාවනා ප්‍රඥාව පුරනවා. භාවනා ප්‍රඥාව පූර්ණ වීමෙන් අවිතක්ක අවිචාර සමාධිය හෙවත් රූපාවචර පංචම ධ්‍යාන නය ක්‍රමය අනුව තුන්වෙනි, හතරවෙනි, පස්වෙනි ධ්‍යාන කුසල් පූර්ණ කරගන්නවා. මේවා පූර්ණ වීමෙන් අධි ප්‍රඥාව, පග්ගහ නිමිත්ත (වීර්ය) පුරනවා. ඊළඟට අඤ්ඤාතාවින්ද්‍රිය (අරිහත් ඵලය) පුරනවා. ඒ නිසා අවිහිංසා විචාරය, බ්‍රහ්ම චරියාව, ප්‍රඥාස්කන්ධය සම්පූර්ණ කරනවා.

මේ විදිහට ඉහතින් විස්තර කරන්න යෙදුන අලෝභ, අදෝස, අමෝහ තුන ලෝකෝත්තර කුසල පක්ෂයේ වන අතර, සියලු කුසල් ධර්ම අනිච්ච, දුක්ඛ, අනත්ත කියන තුන් වැදෑරුම් තික නිර්දේශයන්ගෙන් දක්වනවා.

අප්පනිහිත - සුඤ්ඤත - අනිමිත්ත කියන තුන් ආකාර විමෝක්ෂයෝ ඔහුගේ අවසානය වෙනවා. දුක්ඛ ලක්ෂණය මුල් වෙලා නිවන් අවබෝධ කරන කෙනාට අප්පණිහිත විමෝක්ෂයත්, අනත්ත ලක්ෂණය මුල් වෙලා සත්‍යය අවබෝධ කර ගන්න කෙනාට සුඤ්ඤත විමෝක්ෂයත්, අනිච්ච ලක්ෂණය මුල් වෙලා සසරින් මිදෙන කෙනාට අනිමිත්ත විමෝක්ෂයත් අයිති වෙනවා.

සවිතක්ක සවිචාර සමාධිය තුල නැගෙන විතර්ක විචාරයන් දුක් සහිත බව දකල මාර්ගය වඩල අරිහත්වයට පත්වෙන කොට අප්පණිහිත විමෝක්ෂය වෙනවා. අවිතක්ක විචාර මාත්‍ර සමාධිය සුඤ්ඤත විමෝක්ෂයටත්, අවිතක්ක අවිචාර සමාධිය අනිමිත්ත විමෝක්ෂයටත් අයිති වෙනවා. සවිතක්ක සවිචාර ආදී ඉහත සමාධි තුන හැම තැනම විස්තර කරල තියෙන්නෙ ධ්‍යාන අංග අනුව දේශනා කළ සමාධි තුනක් වශයෙන් බව මෙතෙක් පෙන්වා දුන් බුද්ධ දේශනාවලින් සනාථ වෙනවා.

මේ විදිහට සමාධි ක්‍රමවේද 3 ක් විස්තර වෙන්නෙ රූපාවචර ධ්‍යාන අංග අනුව. සවිතක්ක සවිචාර සමාධිය කියන්නෙ ප්‍රථම ධ්‍යානයට. (පඨමං ඣානං එත්ථුපන්නං විතක්කං ඨපෙත්වා සවිතක්කං, විචාරං ඨපෙත්වා සවිචාරං - විභංග ප්‍රකරණ 2 - 78 පිටුව) විතර්කය හැර සවිතක්කයයි, විචාරය හැර සවිචාරයයි, නිවනට හේතු කාරක වන වීතරාගී, වීතදෝසී, වීත මෝහී කමටහනක් තුල විවිධාකාරයෙන් තරයේ කා වැද්දීම සවිතර්කයයි. (ස + වි + තර්ක) ඒ අනුව සිත හසුරුවන එක සවිචාරයයි.

සූත්‍ර නය ක්‍රමයෙදි ධ්‍යාන හතරක් විදිහටත්, අභිධර්ම නය ක්‍රමයෙදි ධ්‍යාන 5 විදිහටත් විස්තර වෙනවා. අභිධර්ම පිටකය කියන්නෙ සූත්‍ර පිටකයේ තියෙන දේශනාවන් තවත් විස්තරාත්මකව විග්‍රහ කිරීම. සූත්‍ර පිටකයේ ධ්‍යාන 4 නය ක්‍රමයේ තවත් සියුම් විග්‍රහයක් තමයි අභිධර්මයේ ධ්‍යාන 5 ක් විදිහට විස්තර කිරීම.

ධ්‍යාන ලාභීන් අතර මන්ද පඤ්ඤ (ප්‍රඥාව අඩු), තික්ඛ පඤ්ඤ (තීක්ෂණ ප්‍රඥාව ඇති) වශයෙන් පුද්ගලයෝ දෙන්නෙක් ඉන්නවා. මන්ද ප්‍රඥාව තියෙන අයට තමයි රූපාවචර ධ්‍යාන අභිධර්මයේදි ධ්‍යාන 5 ක් විදිහට විස්තර කරල තියෙන්නෙ.

සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකග්ගතා සහිත ප්‍රථම ධ්‍යාන කුසල් සිත, විචාර, ප්‍රීතී, සුඛ, ඒකග්ගතා සහිත දෙවෙනි ධ්‍යාන කුසල් සිත, ප්‍රීතී, සුඛ, ඒකග්ගතා සහිත තුන්වෙනි ධ්‍යාන කුසල් සිත, සුඛ ඒකග්ගතා සහිත හතරවෙනි ධ්‍යාන කුසල් සිත, උපේක්ෂා ඒකග්ගතා සහිත පංචම ධ්‍යාන කුසල් සිත කියන මේ විදිහට තමයි අභිධර්ම ක්‍රමයට ධ්‍යාන පහක් විස්තර වෙන්නෙ.

සූත්‍ර නය ක්‍රමයට අනුව දෙවෙනි ධ්‍යානයෙදිවිතර්ක,විචාරසම්පූර්ණයෙන් නැති වෙනවා. ඒක ඉහතින් සඳහන් කළ තීක්ෂණ ප්‍රඥාවන්තයාට දෙවෙනි ධ්‍යානය ලැබෙන ක්‍රමය. නමුත් මන්ද ප්‍රඥාව තියෙන කෙනාට දෙවෙනි ධ්‍යානයෙදි විචාර මාත්‍රයක් නැගෙනවා. ස. නි. 4 අසංඛත වර්ගයේ අවිතක්ක විචාර මාත්‍ර සමාධියක් ගැන සඳහන් වෙන්නෙ මන්ද ප්‍රඥාවන්තයාගෙ දෙවන ධ්‍යානය. බලවත් විචාරය නැගෙන්නෙ විතර්කයත් සමගමයි. ප්‍රඥා අධිකයාට විතර්ක සංසිඳෙන වෙලාවෙදි විචාරයත් නැගෙන්නෙ නැතිවෙනවා. ඒ නිසා ප්‍රඥා අධිකයාගෙ දෙවෙනි ධ්‍යානය අවිතක්ක අවිචාර (විතක්ක විචාර නැති) විදිහට හඳුන්වනවා.

අවිතක්ක අවිචාර සමාධියට දෙවෙනි, තුන්වෙනි, හතරවෙනි කියන ධ්‍යාන තුනම අයිති වෙන බව විභංග ප්‍රකරණය (2) ධ්‍යාන විභංගයේ 78 පිටුවේ සඳහන් වෙනවා. (තීණි ඣානානි අවිතක්කා තීණි ඣානානි අවිචාරා) ස. නි. (4) අසංඛත වර්ගයේ අවිතක්ක අවිචාර සමාධිය නිවන් මගක් විදිහට දක්වල තියෙන්නෙ ධ්‍යාන අංග අනුව දෙවෙනි, තුන්වෙනි, හතරවෙනි ධ්‍යාන ලාභියා නිවන් මග වඩන ක්‍රමය අනුව.

මන්ද ප්‍රඥාවන්තයාට දෙවෙනි ධ්‍යානයෙදි "අවිතක්ක විචාර මත්තං" කියල විචාර මාත්‍රයක් නැගෙන බව සඳහන් වෙනවා. නමුත් මේ විතර්ක මාත්‍රයේ බලය අඩුයි. ඒකෙ බල බිඳිල තියෙන්නෙ. විචාර බලවත් වෙන්නෙ විතර්කයත් සමග නැගුනොත් විතරයි. ප්‍රඥාවේ අඩුකම නිසා බලයෙන් අඩු විචාර මාත්‍ර නැගෙනවා. මන්ද ප්‍රඥාවන්තයාට අවිතක්ක විචාර මාත්‍ර සමාධිය නිවන් මගක් කියල පෙන්වල තියෙන්නෙ මේ ධ්‍යාන අංගය අනුව.

මන්ද ප්‍රඥාවන්තයාගේ දෙවෙනි ධ්‍යානයෙදි නැගෙන, බලයෙන් අඩු විචාර මාත්‍ර නැතිවෙන්නෙ තුන්වෙනි ධ්‍යානයේදි. ප්‍රඥාවන්තයාට ඒක දෙවෙනි ධ්‍යානයෙදිම නැති වෙනවා. තුන්වෙනි ධ්‍යානයෙදි ඇතිවෙන සුඛය මන්ද ප්‍රඥාවන්තයාට හතරවෙනි ධ්‍යානය දක්වා පවතිනවා. ඒක සුඛ ඒකග්ගතාවයෙන් යුක්ත වෙනවා. තීක්ෂණ ප්‍රඥාවන්තයාට සුඛය පවතින්නෙ තුන්වෙනි ධ්‍යානයෙදි විතරයි. හතරවෙනි ධ්‍යානයට එනකොට සුඛයත් දුක්ඛයත් පහවෙලා උපේක්ෂා ඒකාග්‍රතාවයට පත්වෙනවා.

මන්ද ප්‍රඥාවන්තයාට සුඛ දුක්ඛ අවසන් වෙන්නෙ පස්වෙනි ධ්‍යානයෙදි. එතකොට උපේක්ෂා ඒකග්ගතා කියල පස්වෙනි ධ්‍යානයක් සකස් වෙනවා. චතුර්ථ ධ්‍යාන නය ක්‍රමයෙත්, පංචම ධ්‍යාන නය ක්‍රමයෙත් වෙනස මේ විදිහට වටහ ගන්න ඕන.

අවිතක්ක අවිචාර සමාධිය පිළිබඳව සූත්‍ර පිටකයේ පැහැදිලි විවරණයක් නැති වුනාට, අභිධර්ම පිටකයේ ධ්‍යාන විභංගය හොඳ කල්පනාවෙන් අධ්‍යයනය කරනකොට ඒක ඉතා නිරවුල්ව විග්‍රහ කරගන්න හැකියාව ලැබෙනවා.

අවිතක්ක අවිචාර සමාධිය නිවන් මගක් වෙන්නෙ ධ්‍යාන අංග අනුව. ඒක එහෙම වුනත්, මෑත කාලයේ මීට ධර්මානුකූල නොවන අලුත් අර්ථකතන එකතු වෙලා තියෙනව වගේම, අවිතක්ක අවිචාර සමාධි වඩනව කියල ආර්ය මාර්ගයට අදාළ නැති අන්‍ය ක්‍රමවේදයක් අනුගමනය කරන බව පේනවා. මේ වෙනකොටත් සෑහෙන පිරිසක් මේ වැරදි භාවනා ක්‍රමය අනුගමනය කරන බව අකමැත්තෙන් වුනත් කියන්න සිද්ධ වෙනවා.

සංයුක්ත නිකාය (1) දේවතා සංයුක්තයේ 26 වන පිටුවේ එන මනෝ නිවාරණ සූත්‍රයේ මේ විදිහට සඳහන් වෙනවා. එක්තරා දේවතාවෙක් රාත්‍රී කාලයේ ඇවිදින් තථාගතයන් වහන්සේගෙන් මේ වගේ ප්‍රශ්නයක් අහනවා.

> යතෝ යතෝ මනෝ නිවාරයේ
> නදුක්ඛමෙති නං තතෝ තතෝ
> ස සබ්බතෝ මනෝ නිවාරයේ
> ස සබ්බතෝ දුක්ඛා පමුච්චති

යමකින් යමකින් සිත වළකා ගනීද, එයින් එයින් ඔහුට දුක් පැමිණෙන්නෙ නෑ. ඔහු හැම දෙයින්ම සිත වළකා ගතහොත් හැම දුකින්ම නිදහස් වෙනවා. මේ විදිහට දේවතාවා තථාගතයන් වහන්සේට කිව්වම, ඒකට පිළිතුරු වශයෙන් බුදු පියාණන් වහන්සේ මෙහෙම ගාථාවක් දේශනා කරනවා.

## නිවන් පුරණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

න සබ්බතෝ මනෝ නිවාරයේ
මනෝ යතත්ත මාගතං
යතෝ යතෝච පාපකං
තතෝ තතෝ මනෝ නිවාරයේ

**හැම දෙයින්ම සිත වළක්ව ගන්න හොඳ නෑ. යමකින් යමකින් අකුසල් සිද්ධ වෙනවද, එයින් එයින් සිත වළක්ව ගන්න. එතකොට සියලු දුකෙන් මිදෙනවා.**

මේ දේවතාවත්, සියල්ලෙන් සිත වළක්වගෙන නිහඬව සිත පුරුදු කළාම දුකෙන් නිදහස් වෙන්න පුළුවන් කියල හිතාගෙන ඉඳල තියෙන්නෙ. ඒක වැරදි ක්‍රමයක් විදිහට තථාගතයන් වහන්සේ පෙන්වා දීල තියෙනවා. මේ විදිහට බුදුන් වහන්සේ පවා ප්‍රතික්ෂේප කළ දේවල් නිවන් මග විදිහට ගැනීම මිථ්‍යා මාර්ගයක් වෙනව වගේම අධර්මයක් වෙනවා.

නිවන් මග අනුගමනය කරන්න ගිහින් සද්ධර්ම ප්‍රතිරූපකවලට රැවටීමෙන් පේන්නෙ, ධර්මය වටහ ගන්නව වගේම මේවා සමාජගත කරනකොටත් අපි කොච්චර නම් පරිස්සම් වෙන්න ඕනද කියන කාරණය. පොඩ්ඩ එහා මෙහා වෙනකොට වැරදෙන්න තියෙන ඉඩකඩ බොහොම වැඩියි.

**ධර්මය හරියට දූලි පිහියක් වගේ. දූලි පිහියෙන් කෙස් රැවුල් බෑම... ආදී ප්‍රයෝජන ගන්න පුළුවන් වගේම, ඒක වැරදි විදිහට පරිහරණය කළොත් මහා විනාසයක් වෙන්නත් පුළුවන්. ධර්මයේ අපට වටහගන්න බැරි ගැඹුරු තැන් තියෙනව නම්, ඒවා සාකච්ඡා මාර්ගයෙන් විසඳ ගන්න තරම් නිහතමානී වෙන්න ඕන. එහෙම නැත්නම්, වැටහෙන ප්‍රමාණයෙන් නිවන් මග අනුගමනය කරනව වගේම, අනුන්ට කියාදෙන කොටත් දේශක ශ්‍රාවක දෙපක්ෂයම විමර්ශන බුද්ධියෙන් කටයුතු කරන්න ඕන. එහෙම නොවුනොත් ධර්මය වරදවා ගැනීම නිසා දෙගොල්ලන්ටම සිද්ධ වෙන හානිය සුළුපටු නෑ. හැල් නන්ඩුව වැරදි විදිහට තැබීමෙන් කකුලෙ ඇනිල තුවාල වෙනව කියන එක සිද්ධ වෙන දෙයක් නෙවෙයි. මොකද හැල් නන්ඩුව කියන්නෙ වී ඇටයක කෙළවර. ඒ වගේම වරදවා පිහිටුවන ලද මාර්ග ප්‍රතිපදාවෙන් නිවන් අවබෝධ කරනව කියන එකත් සිද්ධ වෙන්නෙ නෑ.**



ධ්‍යාන පිළිබඳ සූත්‍ර බොහෝ ගණනක් තියෙනව තමයි. හැබැයි ධ්‍යාන ගැන සඳහන් නොකර විදර්ශනාව පමණක් තුළින් නිවන් මග විස්තර කරපු සූත්‍රත් ගණනාවක් ත්‍රිපිටකය පුරා තියෙනවා.

**බුදුවරයන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙන කාලයක අල්ප රජස්ක (කෙලෙස් අඩු) මහා ප්‍රඥා ශ්‍රාවකයො පහළ වෙනවා. බුදු රජුන් ජීවමාන කාලයේ පවා ධ්‍යාන අභිඥා සහිත මහ රහතන් වහන්සේලා වැඩ හිටියෙ සීමිත ප්‍රමාණයක්. අභිඥා වගේ විශේෂ ඥාන ලැබෙන්නෙ ආසන්න භවවල ධ්‍යාන, අභිඥා වගේ අධිමානසික ශක්තීන් පුරුදු පුහුණු කරපු අයට. හැමෝටම ධ්‍යාන ලැබෙනව කියල නියමයක් නෑ. ලැබුනත් ඒවා පිරිහෙන්න තියෙන ඉඩකඩ වැඩියි.**

කලෙස් පහ කරන ක්‍රමවේද වශයෙන් පස් ආකාරයක් ධර්මයේ විස්තර කරල තියෙනවා. ඒ තදංග, විෂ්කම්භන, සමුච්ඡේද, පටිපස්සද්ධි, නිස්සරණ වශයෙන්. මේක විවේක 5 ක් විදිහටත් හඳුන්වල තියෙනවා. (පටිසංභිදා මග්ග විවේක කතා - 206 පිටුව)

බණ අහන මොහොතක නීවරණ සමථයට පත් වීම තදංග ප්‍රහාණය. ඒ ඒ මොහොතට කෙලෙස් පහ වීමත් තදංග ප්‍රහාණයක්. ධ්‍යාන තුළින් පංච නීවරණ දුරු කිරීම විෂ්කම්භන ප්‍රහාණය. ලෝකෝත්තර මාර්ගය වඩන කෙනාට සමුච්ඡේද ප්‍රහාණයත්, ඵලයට පත්වෙන ඥානයේදී පටිපස්සද්ධි ප්‍රහාණයත් සිද්ධ වෙනවා. නිරෝධ සංඛ්‍යාත නිවන නිස්සරණ විවේකය වෙනවා.

මේ අනුව අවසාන වශයෙන් කියන්න තියෙන්නෙ ධ්‍යාන වඩන්න එපා කියල නෙවෙයි, ධ්‍යාන අරමුණු කරන්නෙ නැතිව දුටු නිවන සිහි කරගෙන විදර්ශනා වඩන්න කියන කාරණය. එතකොට හේතු තියෙන අයට ධ්‍යානත් මග ඵලත් දෙකම ලැබෙයි. හේතු නැති අයට ධ්‍යාන නොපිහිටියත් මග ඵල ලැබෙයි. ඉතින් මේ සම්බන්ධයෙන් තර්ක කර කර ඉන්නෙ නැතිව ධර්මය මෙනෙහි කරනව නම් මේ අත් භවයේ ලැබෙන්න තියෙන ඵලය ලැබෙයි. හැබැයි මුකුත් නොකර නිකං හිටියොත් මග වැඩීම නතර වෙලා ප්‍රමාද වීමක් තමයි වෙන්නෙ. ඒ කියන්නෙ තවත් කාලයක් සසර දුක් විඳින්න වෙනවා.

වර්තමානයේ ධර්මයේ නාමයෙන් මතු වෙලා තියෙන සද්ධර්ම ප්‍රතිරූපක අතර තවත් අත්තනෝමතයක් මේ විදිහට දක්වන්න පුළුවන්. "රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශවල ආස්වාද නෑ. ඇස, කන, නාසය, දිව, කය යන ඒවායෙත් ආස්වාද නෑ. ආස්වාදය කියන්නෙ හිතේ හදාගන්න එකක්." මේ කාරණය කෙතරම් ධර්මානුකූලද කියල පෙළ දහමින් හොයල බලන්න ඕන.

ස. නි. 4 යමක වග්ගයේ 25 පිටුවේ එන දුතිය නො චේ අස්සාද සූත්‍රයේ මේ විදිහට විස්තර වෙනවා.

නෝ චේදං භික්ඛවේ රූපානං අස්සාදෝ අභවිස්ස, නයිදං සත්තා රූපේසු සාරජ්ජෙය්‍යුං, යස්මා ඛෝ භික්ඛවේ අත්ථි රූපානං අස්සාදෝ තස්මා සත්තා රූපේසු සාරජ්ජන්ති.

මහණෙනි, රූපයන්ගේ ආස්වාදයක් නැත්නම් සත්ත්වයෝ රූපයන්හි ඇලෙන්නෙ නෑ. රූපයේ ආස්වාදයක් තියෙන නිසාම සත්ත්වයා රූපයට ඇලෙනවා.

ශබ්ද, ගන්ධ... ආදිය පිළිබඳවත් මේ අනුසාරයෙන්ම විස්තර කරල තියෙනවා. රූප, ශබ්දාදියේ ආස්වාද නෑ කියන මතය ඉහත සූත්‍රය අනුව ප්‍රතික්ෂේප වෙනවා.

ඇස, කන, නාසය... ආදී අධ්‍යාත්මික ආයතයන්ගෙත් ආස්වාද නෑ කියන මතය ස. නි. 4 - 21 පිටුවේ සඳහන් වෙන නො චේ අස්සාද සූත්‍රය අනුව නිෂ්ප්‍රභා වෙනවා.

නෝ චේදං භික්ඛවේ චක්ඛුස්ස අස්සාදෝ අභවිස්ස නයිදං සත්තා චක්ඛුස්මිං සාරජ්ජෙය්‍යුං, යස්මාච ඛෝ භික්ඛවේ අත්ථි චක්ඛුස්ස අස්සාදෝ තස්මා සත්තා චක්ඛුස්මිං සාරජ්ජන්ති

මහණෙනි, ඇසේ ආස්වාදයක් නැත්නම් මේ සත්ත්වයෝ ඇසේ ඇලෙන්නෙ නෑ. ඇසේ ආස්වාදයක් තියෙන නිසාම සත්ත්වයෝ ඇසට ඇලුම් කරනවා.

කන, නාසය... ආදිය ගැනත් මේ ආකාරයෙන්ම දේශනා කරල තියෙනවා. රූපවලත් ආස්වාද නෑ, ඇස ආදී ආයතනවලත් ආස්වාද නෑ කිව්වම, ඉහත සූත්‍ර දෙකටම පරස්පර මතයක් ගොඩනැගෙනවා.

රූපයේ ආස්වාදයක් නෑ කියන්න ඉදිරිපත් කරන තර්කයකුත් තියෙනවා. ඒ තමයි, කෙනෙක් එක රූපයකට ප්‍රිය මනාපය දක්වන කොට තවත් කෙනෙක් ඒ රූපයටම අප්‍රිය අමනාපය දක්වනවා කියන කාරණය. රූපයේ ආස්වාද තියෙනව නම් කෙනෙක් ප්‍රිය කරන දේට සියලු දෙනාම ප්‍රිය කරන්න ඕනලු. ඒ විදිහට ප්‍රිය කරන්නෙ නැත්තෙ ඒ තුල ආස්වාදයක් නැති නිසාලු.

පටිච්ච සමුප්පන්නව ආස්වාද ගොඩ නැගෙන්නෙ, ඒ ඒ පුද්ගලයා ඒ ඒ දේවල්වලට දක්වන ප්‍රිය මනාපත්වය නිසා. සත්ත්වයාට පටිසන්ධියෙන් ආපු ගතිය අනුව හා මේ අත්භවයේ විඤ්ඤාණවලට ආහාර දීල ගොඩ නගාගන්න දෘෂ්ටීන් අනුව රූප, ශබ්ද, ගන්ධ... ප්‍රත්‍ය කරගෙන තමයි හිතේ ආස්වාදය හටගන්නෙ.

ආස්වාදය කියන්නෙ හිතේ හදාගන්න දෙයක් මිසක් රූපාදියේ තියෙන දෙයක් නෙවෙයි නම්, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ නොතිබුනත් හිතේ ආස්වාද හැදෙන්න ඕන. මේ අනුව ආස්වාදය හිතේ හදාගන්න එකක් කීම තථාගත ධර්ම න්‍යායන්ට පටහැනි කතාවක්.

ස. නි. 1 - 244 පිටුවේ එන සේලා සූත්‍රයේ මේ විදිහෙ විග්‍රහයක් සඳහන් වෙනවා.

සේලා මෙහෙණිය අන්ධ වනයේ දිවා විහරණය සඳහා ගියාට පසු, පවිටු මාරයා සේලා භික්ෂුණියට බිය තැති ගැනුම් ඇති කරල සමාධිය නැති කරන අදහසින් මෙහෙම කියනවා. මේ අත්බැව කවරෙක් විසින් කරපු දෙයක්ද, මේක හදපු කෙනා කවුද, මේ අත්බැව කුමක් නිසා උපදිනවද, කුමන ආකාරයකට නිරුද්ධ වෙනවද?

මෙහෙම කියනකොට, මේක පවිටු මාරයගේ කියමනක් බව දැනගෙන භික්ෂුණිය මේ විදිහට ප්‍රකාශ කරනවා.

නයිදං අත්ත කථං බිම්බං
නයිදං පරකතං අඝං
හේතුං පටිච්ච සම්භූතං
හේතු භංගා නිරුජ්ඣති

මේ අත්බැව තමා විසින් කරපු දෙයක් නෙවෙයි. වෙන කෙනෙකු විසින් කරපු දෙයකුත් නෙවෙයි. හේතු නිසා හටගෙන හේතු බිඳීමෙන් නිරුද්ධ වෙන එකක්.

ඒ සූත්‍රයේ මේ විදිහටත් විස්තර වෙනවා. කෙතක වපුරපු බීජ පොළොවෙ රසය, ජලය ලබාගෙන යම් විදිහකට වැඩෙනවද, ඒ වගේ ස්කන්ධ, ධාතු, ආයතන කියන මේවා හේතු නිසා හටගෙන හේතු නැතිවීමෙන් නිරුද්ධ වෙන ධර්මයන්.

ආස්වාද තමන් විසින් හිතේ හදාගන්නව කිව්වම, පටිච්ච සමුප්පාදයෙන් බැහැර වෙලා සත්ත්ව, පුද්ගල, මමත්වයට වැටෙන දෙයක් බවට පත්වෙනවා. ආස්වාදය කියන්නෙ හිතේ හදාගන්න දෙයක් නෙවෙයි, හේතු අනුව ගොඩනැගෙන දෙයක්. හදාගන්නවයි, ගොඩනැගෙනවයි කියන්නෙ කාරණා දෙකක්. රූප ප්‍රත්‍ය කරගෙන තමයි ආස්වාද ගොඩනැගෙන්නෙ.

යං රූපං පටිච්ච උප්පජ්ජති සුඛං සෝමනස්සං අයං රූපේ අස්සාදෝ (ම. නි. 3 - 120 පිටුව - මහා පුණ්ණම සූත්‍රය) යම් රූප - රූපයකට, ශබ්ද - රූපයකට, ගන්ධ - රූපයකට, රස - රූපයකට... ගැලපිලා බැඳුනම ඒ නිසා හටගත්තෙ සැපයක් සොම්නසක් නම් ඒකට ආස්වාදය කියල කියනවා. "යං ලෝකේ පිය රූපං සාත රූපං එත්තේසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති, එත්ථ නිවිසමනා නිවිසති" ලෝකයේ යම් ප්‍රිය ස්වභාවයෙන්, මධුර ස්වභාවයෙන් යුක්ත රූපයන් හේතු කරගෙන තණ්හාව උපදිනවා, පවතිනවා. මේ විදිහට ආස්වාදය හේතු ප්‍රත්‍ය තුලින් උපදින එකක් මිසක්, ඒක හිතේ හදාගන්නවා කියන එක සම්පූර්ණයෙන්ම ධර්ම විරෝධියි.

බාහිර රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන්නෙ උපාදාන ධර්ම නෙවෙයි, උපාදානීය ධර්ම. හිත තුල උපාදානය හේතුඵල අනුව මිසක් නිකං ගොඩනැගෙන්නෙ නෑ. ඒ සඳහා ප්‍රිය මධුර ස්වභාවයෙන් යුක්ත උපාදානීය ධර්ම තියෙන්න ඕන. උපාදානීය ධර්ම අරමුණු වෙනකොට ආස්වාද ගොඩනැගෙන ආකාරය හේතුඵල රටාව අනුව විස්තර කරනව මිසක්, රූපයෙත් ආස්වාද නෑ, ඇහෙත් ආස්වාද නෑ, ආස්වාදය හිතේ හදාගන්න එකක් කියල කීම ධර්ම න්‍යායන්වලට ගැලපෙන කියමනක් නෙවෙයි. එක අවස්ථාවක භික්ෂුවක් තථාගතයන් වහන්සේගෙන් අහනවා, ස්වාමීනි ජාතිය කාගෙද කියල. එතකොට බුදුන් වහන්සේ දේශනා කරනවා, මහණ ප්‍රශ්නය වැරදියි, ජාතිය කෙසේ ඇතිවෙනවද අහන්න කියල. එතකොට භව ප්‍රත්‍යයෙන් ජාති ගොඩනැගෙන බව දේශනා කළා. මේ විදිහට පටිච්ච සමුප්පාදයම විස්තර කරල තියෙනවා.

ජාතිය කාගෙද, නැත්නම් ජාතිය මම හදාගත්ත කිව්වොත්, හේතුඵල දහමෙන් පිට පැනල සත්ත්ව, පුද්ගල, මමත්ත්වයකට වැටෙනවා. ඒ නිසයි, ජාතිය කාගෙද කියල අහපු ප්‍රශ්නයම වැරදියි කියල වදාළේ. ආස්වාදය හිතේ හදාගන්නවා කීමත් ඒ වගේම කියමනක්. හිතේ හදාගන්නෙ කවුද කියල ඊළඟට ගැටළුවක් එනවා. එතකොට ආස්වාදය හිතේ හදාගන්නෙ මමයි කියල කියන්න වෙනවා. එතකොට පටිච්ච සමුප්පාදයෙන් පිට පැනපු ධර්ම විරෝධී අදහසක් වෙනවා.

# ඉන්ද්‍රිය භාවනාව...



**ශ්‍රාවක :** 76 කලාපයෙන් කළ සාකච්ඡාවෙදි, කර්ම විපාක දීමේ ධර්මතාවය අනුව අකුසල් කරගන්නා ආකාරය පැහැදිලි කරගත්තා. එතනදි තේරුම් ගත්තෙ, අකුසල කර්ම විපාකයක් හේතුවෙන් නැවතත් අකුසලයක්ම කරගන්නා ආකාරයත්, එයින් වැළකිලා පෙර අකුසල කර්ම විපාකයකින් නැවතත් කුසල කර්මයක් රැස් කරගන්නා ක්‍රමවේදයත් ගැන.

**දේශක :** ඔව්. එතනදි කම්මා විපාකා වත්තන්ති විපාකෝ කම්ම සම්භවෝ... කියන ගාථාවෙන් පෙන්වල දීල තියෙන ක්‍රමවේදය විස්තර සහිතව කතා කළා.

**ශ්‍රාවක :** ඒ ක්‍රමවේදය අනුව අකුසල කර්ම විපාකයකින් අපි නැවත අකුසලයක්ම රැස් කරගත්තත්, කුසල කර්ම විපාකයකින් එහෙම වෙන්නෙ නෑ නේද?

**දේශක :** අපි බලමු කුසල කර්ම විපාකවලින් මොකද වෙන්නෙ කියල. පෙර කරන ලද පිනක ප්‍රතිඵලයක් හැටියට ඔබට ඉතාමත්ම ආස හිතෙන ප්‍රිය මනාප රූපයක් දකින්න ලැබුනොත්, ඒ රූපය ගැන මොන වගේ අදහසක්ද හිතට එන්නෙ?

**ශ්‍රාවක :** හරි හොඳයි කියල හිතෙයි. ආසාවකුත් ඇතිවෙයි. සමහරවිට මට අයිති කරගන්න ඕන කියල අදහසක් එන්නත් පුළුවන්.

**දේශක :** එහෙම අවස්ථාවකදි ඔබ ඉන්නෙ ලෝභයෙන්ද, අලෝභයෙන්ද, එහෙම නැත්නම් රාගයකින්ද, විරාගයකින්ද?

**ශ්‍රාවක :** ලෝභ වීමක්, රාග වීමක් තමයි සිද්ධ වෙන්නෙ. ඒ කියන්නෙ ඒකත් අකුසල මූලයක්ම තමයි. කර්ම විපාක විදිහට හොඳ එකක් ආවත් නරක එකක් ආවත්, පෘතජ්ජනයා මේ දෙකෙන්ම නැවත බොහෝ විට රැස් කරගන්නෙ අකුසල කර්මයක්ම තමයි. මේ ලෝකෙ ජීවත් වෙන හැම මනුස්සයෙකුටම මේක නේද වෙන්නෙ?

**දේශක :** අති මහත් බහුතරයකට වෙන්නෙ ඒක තමයි. දැන් ඔබට වැටහෙන්න ඕන, මනුස්ස චුති සූත්‍රයෙදි (සංයුක්ත නිකාය 5 - 2, 350 පිටුව) බුදු රජාණන් වහන්සේ නිය පිටට පස් ටිකක් අරගෙන මේ මහ පොළොවෙ තියෙන ඉතිරි පස් තරම් ප්‍රමාණයට මිනිස්සු අපාගත වෙනව කියල කිව්වෙ ඇයි කියල.

**ශ්‍රාවක :** ඔව්. බුදු රජාණන් වහන්සේ විසින් දේශනා කළ මේ ශ්‍රී සද්ධර්මය නිවැරදිව දැනගෙන අනුගමනය නොකරන ඔක්කෝටම වෙන්නෙ මේක තමයි කියල දැන්නම් හොඳටම තේරුම් ගියා. මේකෙන් බේරෙන ක්‍රමවේදයත් උන්වහන්සේ දේශනා කරල තියෙනව නේද?

**දේශක :** ඔව්. ඉතා පැහැදිලිවම ක්‍රමවේද රාශියක් දේශනා කරල තියෙනවා. එක එක අයගෙ ඥාන මට්ටම අනුව තමන්ට ගැලපෙන ක්‍රමයක් තෝරගෙන, මේ සසරෙන් හැකි ඉක්මනින් ඉවත් වෙන එක තමයි අපි හැමෝම අනිවාර්යෙන්ම කළ යුතු වෙන්නෙ.

**ශ්‍රාවක :** තම තම නැණ පමණින් දැනගත යුතුයි කියල දේශනා කරල තියෙන්නෙ, මේ ක්‍රමවේද රාශියෙන්ම තමන්ට වැටහෙන ක්‍රමය හොයාගෙන අනුගමනය කරන්න කියන එකම නේද?

**දේශක :** ඔව්. කළ්‍යාණ මිත්‍ර සේවනය ලැබුනට පස්සෙ ඒ වගේ ගැලපෙන ක්‍රමවේදයකින් කාටත් සසරින් එතෙර වෙන්න පුළුවන්.

**ශ්‍රාවක :** මේ කර්ම විපාක විදිහට

---

ත්‍රිපිටක සාක්ෂි අනුව මෙතෙක් පැහැදිලි කළේ, මේ යුගයේ ධර්මයේ නාමයෙන් මතුවෙලා තියෙන සද්ධර්ම ප්‍රතිරූපක කිපයක් පිළිබඳව. ඒවායේ තියෙන සාවද්‍යතාවය ත්‍රිපිටක පෙළ දහමින් සූත්‍ර පිටු අංක පවා සඳහන් කරමින් විස්තර කළේ, බුද්ධ වචනය ඉස්මතු කරල පෙන්වන්න මිසක් අපිට ඉස්මතු වෙන්න නෙවෙයි. නුවණැත්තෝ මේ විග්‍රහයේ තියෙන කරුණුත් විමර්ශනය කරල, වැරදි දෙයක් තියේ නම් පෙන්වා දෙන සේක්වා. අපි අතින් යම් අඩුපාඩුවක් වෙලා තියෙනව නම්, නිහතමානීව ධර්ම ගරුත්වයෙන් බාර ගන්නත් සූදානම්. සත්‍යමේව ජයතේ - සත්‍යයම ජයගනී සච්චං භණේ - සත්‍යයම ප්‍රකාශ කරන්න. "ඒකංහි සච්චං න දුතිය මත්ති" සත්‍යය එකක් මිස දෙකක් නෑ. "සච්චං හවේ සාධුතරං රසානං" සියලු රස පරදා සත්‍ය රසය ජය ගනී. "සබ්බං රසං ධම්ම රසෝ ජිනාති" සියලු රසවලට වඩා ධර්ම රසය උතුම්ය.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**

**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**

තමන්ට ලැබෙන කැමති අරමුණු සහ අකමැති අරමුණුවලින් නැවතත් අකුසලයක්ම කරගන්නෙ නැතිව බේරෙන ක්‍රමය මොකක්ද?

**දේශක :** සත්පුරිසයෙක්ගෙන් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල, මේ ලෝකයේ ඇත්ත දැනගෙන ඉන්න කෙනෙකුට විතරයි මේ උගුලෙන් ගැලවෙන්න මේ ක්‍රමවේදය අනුගමනය කරන්න පුළුවන් වෙන්නෙ.

**ශ්‍රාවක :** ඇත්ත දැකල තියෙන්න ඕන කියන එක ටිකක් විස්තර වශයෙන් දැනගත්තොත් හොඳයි.

**දේශක :** චතුරාර්ය සත්‍යය දැකල තියෙන්න ඕන. එහෙම නැත්නම් ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් දැකල තියෙන්න ඕන. ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වෙලා තියෙන්න ඕන. මේ ලෝකය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි, අසුභයි කියල දැකල තියෙන්න ඕන. සැප විඳීම, දුක් විඳීම, උපේක්ෂා විඳීම කියල කියන්නෙ හේතුඵල අනුව පටිච්ච සමුප්පන්නව අදාළ ස්පර්ශයට අනුව ගොඩ නැගෙන සංඛතයක් මිසක්, ගන්න කිසිම හරයක් ඇති දෙයක් නෙවෙයි කියල දැකල තියෙන්න ඕන. මේ මොන ක්‍රමයට දැක්කත් දකින්නෙ චතුරාර්ය සත්‍යයම තමයි.

**ශ්‍රාවක :** මේ ලෝකයේ පෘතජ්ජනයින් දැකල නැති මේ ඇත්ත දැක්ක ආර්යන්ට තමයි මේ උගුලෙන් ගැලවෙන්න පුළුවන් වෙන්නෙ. මොන ආකාරයක කර්ම විපාකයක් ඵල දුන්නත්, මේ උගුලට අහු නොවී ඉන්න නම් අපි කරන්න ඕන මොකක්ද කියල පැහැදිලි කරල දෙන්න.

**දේශක :** ඒ ගැන හොඳට පැහැදිලි කරල තියෙන සූත්‍රයක් ත්‍රිපිටකයේ තියෙනවා. ඉන්ද්‍රිය භාවනා සූත්‍රය කියල තමයි ඒක නම් කරල තියෙන්නෙ. (මජ්ඣිම නිකාය - 3, 617 පිටුව) බුදු රජාණන් වහන්සේ වැඩ හිටිය කාලෙදිත් අනාර්ය වූ ඉන්ද්‍රිය භාවනාවක් තිබුනා. බුදු රජාණන් වහන්සේ මුණගැහෙන්න ආපු උත්තර කියන බ්‍රාහ්මණයත් ඒ අනාර්ය ඉන්ද්‍රිය භාවනාව කර කර තමයි හිටියෙ.

**ශ්‍රාවක :** මොකක්ද ඒ අනාර්ය ක්‍රමය? ඒ ගැනත් දැනගන්න එක වටිනවා. අපිත් වැරදි එක කර කර ඉන්නවද දන්නෙත් නැනෙ.

**දේශක :** ඒකෙදි කියවෙන්නෙ, ඇස හොඳට තියෙද්දි රූප නොබලම ඉන්න, කන හොඳට ඇහෙද්දි සද්ද අහන්නෙ නැතුවම ඉන්න... ආදී වශයෙන් ඉන්ද්‍රිය භාවිතා කරන්නෙ නැතිව ඉන්න ක්‍රමයක්.

**ශ්‍රාවක :** එතකොට ඒ වගේ අය මේ ලෝකෙ ජීවත් වෙන්නෙ කොහොමද? මුකුත්ම කරගන්න ලැබෙන්නෙ නැනෙ.

**දේශක :** ඔව්. බුදු රජාණන් වහන්සේ ඔහුට පෙන්වා දෙනවා, ඔය කියන ආකාරයට හොඳටම ඉන්ද්‍රිය භාවනාව වැඩිල තියෙන්න ඕන ජාති අන්ධයන්ටයි ජාති බීරන්ටයි (උප්පත්තියෙන්ම අන්ධ / බිහිරි) කියල. මොකද ඉතින් ඒ අයට පේන්නෙත් නෑ, ඇහෙන්නෙත් නෑ.

**ශ්‍රාවක :** එතකොටවත් තේරුනේ නැත්ද, තමන් මේ කර කර ඉන්නෙ මෝඩ වැඩක් කියල.

**දේශක :** ඔව්. ඔහුට තේරුම් ගිහින් කට උත්තරත් නැතිව අමාරුවෙන් ඉන්නකොට, ආනන්ද හාමුදුරුවො බුදු රජාණන් වහන්සේට ආරාධනා කරනවා ඉන්ද්‍රිය භාවනාව දේශනා කරන්න කියල.

**ශ්‍රාවක :** තමන් කර කර ඉන්නෙ වැරදි එකක් බව තේරුම් ගියා නම් ඔහු ඥානවන්ත කෙනෙක් නේද?

**දේශක :** ඒක ඇත්ත. වැරැද්ද පෙන්වා දුන්නම තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ ඥානවන්තයින්ට තමයි. ඒ නිසාම තමයි බුදු රජාණන් වහන්සේත් ඔහුට නිවැරදි ඉන්ද්‍රිය භාවනාව කියල දෙන්නෙ. අපි මේ ලෝකයේ ජීවත් වෙනකොට මේ ලෝකයෙන් රූප, ශබ්ද, ගන්ධ... ආදී අරමුණු බාහිරින් එනවා. ඒ ගැන ඔබ හොඳින් දන්නව නේද?

**ශ්‍රාවක :** ඔව්. අරමුණු වර්ග තුනක් තියෙනවා. කැමති අරමුණු, අකමැති අරමුණු, උපේක්ෂා අරමුණු කියල.

**දේශක :** ඒ අරමුණු ආවම අපිට මොකද වෙන්නෙ?

**ශ්‍රාවක :** කැමති අරමුණුවලට රාගයෙන් කාම විතර්ක ගොඩ නගල, ඒවාට ආස වෙලා ඒවා වැඩි වැඩියෙන් ලබාගන්න උත්සාහ කරනවා. අකමැති අරමුණුවලට ද්වේශයෙන් ව්‍යාපාද විතර්ක ගොඩ නගල ගැටීමක් ඇති කරගන්නවා. කැමතිත් නැති අකමැතිත් නැති උපේක්ෂා අරමුණුවලින් නම් ඒ හැටි ප්‍රශ්නයක් නෑ. ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව අපිට පාඩුවේ ඉන්න පුළුවන්.

**දේශක :** ඔබට ප්‍රශ්නයක් නෑ කියල පාඩුවේ හිටියට, ඔබ දන්නෙම නැතිව මෝහයෙන් තමයි එහෙම ඉන්නෙ. මේ ගැන හොඳට පෙටකෝපදේශයේ විස්තර කරල තියෙනවා. උපේක්ෂාවටත් බැඳිල උපේක්ෂා විඳීමක් කරගෙන, අන්තිමට විහිංසා විතර්ක ගොඩ නගාගෙන සංඛාර දුකක් විඳිනවා කියල තමයි එතනදි පෙන්වා දීල තියෙන්නෙ.

**ශ්‍රාවක :** එතකොට අපිට මේ ලැබෙන අරමුණු තුනෙන් අන්තිමට රාග බවට, ද්වේශ බවට, මෝහ බවට පත්වෙන එක තමයි අවසානෙදි සිද්ධ වෙන්නෙ. මේ ආකාරයට රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් ලෝකයෙන් එන අරමුණුත් එක්ක කටයුතු කරන තාක් කල් අපිට ගැලවීමක් නම් ලැබෙන්නෙම නෑ නේද?

**දේශක :** හරියටම හරි. මේ විදිහට ලෝකය ඇසුරු කරනකොට කැමති අරමුණුවලින් එන ප්‍රියමනාප ස්වභාවයකුත්, අකමැති අරමුණුවලින් එන අප්‍රිය අමනාප ස්වභාවයකුත්, කැමතිත් නැති අකමැතිත් නැති අරමුණුවලින් උපේක්ෂා ස්වභාවයකුත් එනව කියල තමයි ඉන්ද්‍රිය භාවනා සූත්‍රයෙදි පෙන්වා දීල තියෙන්නෙ. ඒ ගැන සූත්‍රයේ පාළියෙන් සඳහන් වෙන්නෙ මේ ආකාරයට.

කථඤ්චානන්ද, අරියස්ස විනයේ අනුත්තරා ඉන්ද්‍රිය භාවනා හෝති : ඉධානන්ද, භික්ඛුනෝ චක්ඛුනා රූපං දිස්වා උප්පජ්ජති මනාපං, උප්පජ්ජති අමනාපං, උප්පජ්ජති මනාපාමනාපං. සෝ ඒවං පජානාති : උප්පන්නං ඛෝ මේ ඉදං මනාපං උප්පන්නං අමනාපං උප්පන්නං මනාපාමනාපං තඤ්ච ඛෝ සංඛතං ඕළාරිකං පටිච්ච සමුප්පන්නං, ඒතං සන්තං ඒතං පණීතං යදිදං උපෙක්ඛාති. තස්ස තං උප්පන්නං මනාපං උප්පන්නං අමනාපං උප්පන්නං මනාපාමනාපං නිරුජ්ඣති, උපේක්ඛා සණ්ඨාති.

**ශ්‍රාවක :** මෙතනදි පෙන්වල තියෙන්නෙ බාහිර අරමුණුවලින් එන විඳීම් පජානාති විදිහට දැනගන්න කියල.

**දේශක :** ත්‍රිපිටකයේ සිංහල පරිවර්තනයෙදි මේ කාරණය "දැනගනී" කියල තමයි ලියල තියෙන්නෙ. නමුත් අපි දැන් දන්නවා, පජානාති කියන්නෙ දැන ගැනීමක් වුනාට, ප්‍රඥාවෙන් චතුරාර්ය සත්‍යය දකිනවට තමයි පජානාති කියල යොදල තියෙන්නෙ කියල. ඒ කියන්නෙ මායාවෙන් මිදිල ඇත්ත දැකීම.

**ශ්‍රාවක :** බාහිරින් එන අරමුණුවලින් ගොඩ නැගෙන මේ

විඳීම් තුන ගැන පජානාති ආකාරයට දැන ගැනීමෙදි, ඒවා සම්බන්ධයෙන් යම් අයෙක් අවබෝධ කරගෙන දැකල තිබිය යුතු සත්‍යය මොකක්ද?

**දේශක :** ඒක තමයි මම මුලින්ම කිව්වෙ, මේක කරන්න පුළුවන් වෙන්නෙ දහම් අවබෝධය ලබාගත්ත ආර්ය ශ්‍රාවකයන්ට විතරයි කියල. මේ විඳීම් තුන හේතුන්ගෙන් හට ගත්ත ආකාරය ඒ අය දන්නවා. ඒවා පටිච්ච සමුප්පන්නව ගොඩ නැගුන සංඛත බව දන්නවා. ඒවා අනුව රාග, ද්වේශ, මෝහ බවට පත්වීම නිසා සිද්ධ වෙන විනාසයත්, එහෙම නැත්නම් ආදීනවයත් දන්නවා. ඒ වගේම ආස්වාදය, ආදීනවය, නිස්සරණය ගැන තතු සේ දන්න නිසා, දුකින් මිදෙන්න ඡන්ද රාගය නිරෝධ කරගත යුතු බවත් දන්නවා.

**ශ්‍රාවක :** උදාහරණයක් විදිහට ඇසෙන් ප්‍රියමනාප රූපයක් දැක්ක අවස්ථාවකදි, ඒ ප්‍රියමනාප භාවය ඉපදුන ආකාරය ගැනත් හොඳින් දන්නවා. ඒ වෙලාවෙ තමන් රාග බවට පත්වෙලා ඉන්න බවත් දන්නවා. මේ සම්බන්ධයෙන් සිහියෙන් ඉන්න අවස්ථාවකදි, මේ විඳීම් තුන උදා කරගෙන තියෙන ආකාරය පිළිබඳව හොඳ වැටහීමක් තියෙන නිසා, ආදීනවය මෙනෙහි කරමින් පටිච්ච සමුප්පන්නව හේතුන්ගෙන් හට ගත්ත දෙයක් බවත් දන්න නිසා, ඒ රාග ගතියෙන් මිදෙන්න උත්සාහ කරනවා.

**දේශක :** ධර්ම අවබෝධය සහිතව ආදීනව මෙනෙහි කරනකොට, ඒ ප්‍රියමනාප රූපය දැක්ක අවස්ථාවෙදි උදා කරගත්ත රාග බව නිරෝධ වෙලා යනවා. ඒ කියන්නෙ රූපය දැකපු මුල් අවස්ථාවෙ රාග බවට පත්වුනා. නමුත් ආදීනව මෙනෙහි කරල ගැලවෙන්න උත්සාහ කරපු නිසා, දැන් මුලින් උදා කරගත්ත ආකාරයට රාග බවක් ඇති වෙන්නෙ නෑ. අන්න ඒ තත්ත්වයට තමයි ඒ උපන් මනාපය නිරුද්ධ කළා කියන්නෙ. මේ ආකාරයට උපන් මනාපය නිරුද්ධ කරගත්තට පස්සෙ, ඒ කියන්නෙ රාග බවට පත්වෙච්ච එකෙන් මිදුනට පස්සෙ ඔහු දැන් ඉන්නෙ මොන භවකට පත්වෙලාද?

**ශ්‍රාවක :** රාගයෙන් මිදුනට පස්සෙ තියෙන තත්ත්වයයි, ලෞකික උපේක්ෂාව කියල කියන තත්ත්වයයි සම කරන්න බෑ. එතකොට තියෙන්නෙ ලෝකෝත්තර උපේක්ෂාව.

**දේශක :** හරියටම හරි. ඔය ආකාරයට එන අරමුණුවලින් රාග, ද්වේශ, මෝහ කියන භවවලට පත් නොවෙනව නම්, එතන තියෙන්නෙ මොන භවක්ද?

**ශ්‍රාවක :** එතන තියෙන්නෙ දැනෙන හඳුනන බව විතරයි. කිසිම බැඳීමක් නෑ. ඒ කියන්නෙ රාගක්ඛයයි, ද්වේශක්ඛයයි, මෝහක්ඛයයි කියන එකම නේද?

**දේශක :** ඔව්. රාගක්ඛය, ද්වේශක්ඛය, මෝහක්ඛය කියන්නෙ නිවනටම තමයි. ඒ ආකාරයට ලෝකයෙන් එන අරමුණු හමුවේ රාග, ද්වේශ, මෝහ බවට පත් නොවී ඉන්න එක තමයි රහතන් වහන්සේලාගේ ස්වභාවය.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ ඔය ආකාරයට ඉන්ද්‍රිය භාවනාව කරල අපි පුරුදු වෙන්න හදන්නෙ, රහතන් වහන්සේගේ ස්වභාවය අනුව කටයුතු කරන්න පුරුදු වෙන එක තමයි. එතකොට ඉන්ද්‍රිය භාවනාව කියන්නෙ නිවන් පූර්ණයටම එල්ල කරල කරන භාවනාවක් නේද?

**දේශක :** ඔව්. ඉන්ද්‍රිය භාවනාව විතරක් නෙවෙයි, බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන සියලුම භාවනා නිවන් පූර්ණ කර ගන්නම එල්ල කරල තියෙන ඒවා තමයි. කාටහරි පුළුවන් නම් ලෝකය ඇසුරු කළාම ලැබෙන මනාපය හෝ අමනාපය හෝ, එහෙමත් නැත්නම් උපේක්ෂාව, ඇහිපිල්ලක් ගහන මොහොතක් තුල නිරුද්ධ කරගන්න, එතකොට ඒකට කියන්නෙ අනුත්තර වූ ඉන්ද්‍රිය භාවනාව කියල.

**ශ්‍රාවක :** අපිට නම් ඉතින් එච්චර ඉක්මනට ඕක කරගන්න අමාරුයි. මම ආසාවකින් බැඳිලද, නැත්නම් තරහෙන් ගැටිලද කියන එක තේරුම් ගන්න ටිකක් වෙලා යනවා. ඒ වගේම හොඳ සිහි කල්පනාවෙන් ඉන්නත් ඕන. අපි වගේ පුරුදු වෙන අයට ඔය භාවනාව කරන්න ක්‍රමයක් තියෙනවද?

**දේශක :** ඔය වගේ ලෝකයත් එක්ක ඇසුරු කරනකොට ඇතිවෙන මනාපය හෝ අමනාපය හෝ ඒ වෙලාවෙ හඳුනගන්න බැරි වුනත්, පස්සෙ වෙලාවක මතක් වුනොත් මේ භාවනාව කරන්න පුළුවන්. මේ සූත්‍රයේම විස්තර වෙනවා, පුරුදු වෙන අය, ඒ කියන්නෙ මේ ඉන්ද්‍රිය භාවනාව කරන්න මුලින්ම පටන් ගන්න අය කරන්න ඕන මොකක්ද කියන කාරණයත්. පාළියෙන් ඒ විස්තරය දක්වල තියෙන්නෙ මේ විදිහට.

කථඤ්චානන්ද, සේඛෝ හෝති පාටිපාදෝ. ඉධානන්ද, භික්ඛුනෝ චක්ඛුනා රූපං දිස්වා උප්පජ්ජති මනාපං, උප්පජ්ජති අමනාපං, උප්පජ්ජති මනාපාමනාපං සෝ තේන උප්පන්නේන මනාපේන උප්පන්නේන අමනාපේන උප්පන්නේන මනාපාමනාපේන අට්ටීයති හරායති ජිගුච්ඡති. සෝතේන සද්දං සුත්වා - පෙ - ඝානෙන ගන්ධං ඝායිත්වා - පෙ - ජිව්හාය රසං...

**ශ්‍රාවක :** හරි මට තේරුනා. මේ ලෝකය ඇසුරු කළාම ලැබෙන සුව දැනීමත්, දුක දැනීමත්, ඒ වගේම උපේක්ෂා දැනීමත් අට්ටීයති, හරායති, ජිගුප්ජති කියල හිතන්න කියල නේද මේ සූත්‍රයෙන් දේශනා කරල තියෙන්නෙ.

**දේශක :** පෙළීමක්, ලැජ්ජා සහගත වැඩක්, පිළිකුල් සහගත වැඩක් කියල හිතන්න කියල තමයි මෙතනදි පෙන්වා දීල තියෙන්නෙ. ඔය අදහස හොඳටම පැහැදිලි කරන කවියක් ලෝවැඩ සඟරාවෙ තියෙනවා.

**මස් ලේ නැති ඇට බලු ලෙවකන්නේ**
**කුස් පිරුමක් එලයක් නොලබන්නේ**
**ලෙස් ඒ සැපතෙහි ලොබ නොසිතන්නේ**
**දොස් නොපෙනෙනු මිස දුක්මයි වන්නේ**

සැප විඳීම සඳහා රූප පසුපස හඹාගෙන යෑම, හරියට මස් ලේ නැති ඇට කට්ටක් බල්ලෙක් අත්හරින්නෙ නැතිවම ලෙව කනව වගෙයි. ඇට කටුව හැපුවට බඩ පිරෙන්නෙ නෑ වගේම, අපිටත් මේ ඉන්ද්‍රියන් පිනවීමෙන් හරයක් ලැබෙන්නෙ නෑ. නමුත් රූප පස්සෙ යන එක අත් හරින්නෙත් නෑ.

**ශ්‍රාවක :** ඒ උදාහරණයෙන් පැහැදිලි කළා වගේම, මේ ලෝකයෙන් ලැබෙන අරමුණු අනුව උපදවා ගන්න මනාපයන්, අමනාපයන්, උපේක්ෂාවන් කියන තුනෙන්ම අපිට හොඳක් වෙන්නෙ නෑ. අන්තිමට වෙන්නෙ මේ භයානක සසරෙ මහා පහත් තත්ත්වයකට වැටිල නිකරුනේ දුක් විඳින්න වෙන එක විතරයි.

**දේශක :** හරියට හරි. ඒක තමයි අපි හැමෝම තේරුම් ගන්න ඕන වැදගත්ම කාරණය. ඒ නිසා පුළුවන් හැම අවස්ථාවකදිම ඔය තත්ත්වය සිහියෙන් ඉඳල හඳුනගෙන, ඉන්ද්‍රිය භාවනාව කරල මේ උගුලෙන් ගැලවෙන්න අවශ්‍ය මාර්ගය වඩාගන්න දැඩි අධිෂ්ඨානයකින් යුතුව කටයුතු කරන්න ඕන.

*සටහන:*

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**






# වස විස ආහාරවලට එරෙහි විකල්ප 05

මහ ලොකු වියදමක් දරන්නෙ නැතිව, කිසිම වස විසක් නැතිව, මේ මහ පොළොවෙ ස්වභාවිකව ගහේ වැලේ හැදෙන, පෝෂණ සහ ඖෂධ ගුණයෙන් යුත් තවත් ආහාරයට ගන්න පුළුවන් කොළ වර්ග කිහිපයක් තමයි මේ හඳුන්වා දෙන්නෙ.

**කිරිහැන්ද :** සාමාන්‍යයෙන් ගෙවතුවල පවා සුලභව වැවෙන මීටරයක් විතර උස යන, දිගටි පත්‍රවලින් යුක්ත තෘණ වර්ගයේ පැළෑටියක් තමයි මේ. කඳ තරමක් මාංශමය ස්වභාවයෙන් යුක්තයි. ඒ වගේම සමහර අවස්ථාවල අතු බෙදිල පඳුරු ආකාරයටත් වර්ධනය වෙනවා. මේ පැළෑටියේ ළපටි දඬු, කොළ ඉතා රසවත් ව්‍යංජනයක් විදිහටත්, මැල්ලුමක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. විශේෂයෙන් කොළවල තියෙන කිරි වඩන ගුණය නිසා කිරි දෙන මව්වරුන්ටත් ගුණදායකයි. අම්ල පිත්ත ප්‍රදාහයට ඉතාමත් ගුණදායකයි. ආමාශයේ සහ මහ බඩවැලේ තියෙන තුවාල ඉතා ඉක්මනින් සුව කිරීමේ හැකියාවක් තියෙනවා. ඒ වගේම ශරීරයේ උෂ්ණ ගතිය පාලනය කරල රක්ත උෂ්ණය සමනය කිරීමේ විශේෂ ගුණයෙන් යුක්තයි. අර්ශස් නිසා හට ගන්නා ගෙඩි පුපුරල ලේ ගැලීම නැවැත්වීමේ හැකියාවක් තියෙනවා. මළබද්ධය දුරු කරල බඩවැල් තුල රැඳිල තියෙන සෙම් කාරම් ඉවත් කරල, පහසුවෙන් ආහාර ජීර්ණය කරන්න අවශ්‍ය වාතාවරණය සකස් කරල දෙනවා. ඒ වගේම සිසිල් කාරක ආහාරයක් නිසා අධික ලෙස සෙම් රෝග තියෙන අය දිනපතා ආහාරයට ගැනීම සුදුසු නෑ. ඒ වගේ සෙම බහුල අයට අබ ටිකක් එකතු කරල සකස් කරගත්තම අධික සිසිල් ගතිය දුරු වෙනවා. කොස් ඇට ටිකක් එකතු කරල මිරිස් දාන්නෙ නැතිව පිපිඤ්ඤා මාළුව උයන ආකාරයට කිරට උයා ගැනීමෙන්, වෙනත් අමතර ව්‍යංජනයක් නැතිව බත් එක්ක විතරක් ආහාරයට ගන්නත් පුළුවන්.

**එරබදු :** එරබදු ගැන අපේ රටේ නොදන්නා කෙනෙක් නෑ. විශේෂයෙන් සිංහල අලුත් අවුරුදු කාලයට නිතරම කියවෙන වචනයක්. ඉස්සර නම් හැම ගෙදරකම වගේ පැළ ඉනි වැටේ, හේනෙ කුඹුරෙ වගාවන් කොටු කරල එරබදු ගස් වවල අවශ්‍ය පමණට කප්පාදු කරල තිබුනා. එරබදුවල අඩංගු ස්වභාවික කෘමි විකර්ශක ගුණයත්, පස සාරවත් කිරීමේ ගුණයත් දැනගෙන හිටපු පැරැන්නන් තමන්ගෙ වත්තෙ පිටියෙ, හේනෙ කුඹුරෙ එරබදු ගස් හිටවන පුරුද්දක් තිබුනා. ඒත් දැන් ඉන්න උදවිය එරබදුවල සාහිත්‍යමය රසය හැර ඖෂධීය හෝ පෝෂණීය ගුණයක් ගැන දන්නෙ නෑ. නමුත් අපේ පැරැන්නො නම් සාහිත්‍ය රසයට අමතරව එරබදුවල ඖෂධීය ගුණය සහ පෝෂණ ගුණය ගැනත් දැනගෙන හිටියා. එදා පැරැන්නන් ආමාශයේ සහ බඩවැල්වල ඇතිවන සියළුම පණු රෝග, කෘමි රෝග සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක් විදිහට එරබදු කොළ, දළු භාවිතා කළා. මොකද මේ එරබදු ආහාරයට ගැනීමෙන් පමණක්ම පණු රෝග සුව වෙන බව ඒ අය දැනගෙන හිටියා. ඒ නිසා ළමයින්ට වෙනම පණු බෙහෙත් පොවන්න අපහසු නම් මේ එරබදු තමයි පණු බෙහෙත් විදිහට දුන්නෙ. එතකොට ආහාරයක් විදිහටත් පෝෂණය ලැබිල පණු අමාරුත් නිකම්ම සුව වෙනවා.

මවකගෙ ගර්භාෂය තුල දරුවෙක් හැදෙන කොට තරලයක් ඇතුලෙ තමයි හැදෙන්නෙ. දරුවා මෙලොව එළිය දකින කොට මේ තරලය පෙණහළුවලින් සහ ආමාශයේ බඩවැල් තුලින් එළියට ආවත්, යම් ප්‍රමාණයක් ඒ බිත්ති ඇතුලෙ ගෑවිලා තියෙනවා. අන්න ඒ කොටස ඉවත් කරන්න එදා හෙළ වෙදකමේදි රත් කල්කය කියල එකක් උපන් හැටියෙ දරුවන්ට දුන්නා. අද ඉංග්‍රීසි වෙදකමේදි එහෙම දෙයක් නොදීම නිසා බඩවැල් තුල ඒ තරලයෙන් හට ගත්ත කාරම් බැඳෙනවා. මව් කුස තුල ඉන්නකොට වාතය සමග නොගැටුනත්, එළියට ආවට පස්සෙ වාතය සමග ගැටීමෙන් ඒ තරල කොටස ගල් වෙලා කාරමක් ආකාරයට බැඳෙනවා. ඒ විදිහට බැඳිච්ච කාරම කිසිම බෙහෙතක් නොදී පහසුවෙන් ඉවත් කරන්න තියෙන ඖෂධයක් තමයි එරබදු කොළ.

ඒ කියන්නෙ දරුව ඉපදිලා මාස 5 - 6 ක් විතර ගියාට පස්සෙ මැල්ලුමක් විදිහට හදල කන්න පුළුවන් ගානට පොඩි කරල දෙන්න පුළුවන්. ඒ විතරක් නෙවෙයි ඇදුම, හතිය,

කැස්ස, හන්දිපත් වේදනා, හිසරදය, අධික කොලෙස්ටරෝල්, අධික සීනි, කම්මැලිකම නැති කරන ඖෂධයක් විදිහටත්, ප්‍රතිශක්තිකාරකයක් විදිහටත් අපේ පැරැන්නො එරබදු ශාකය හඳුනගෙන තිබුනා. එරබදු දල්ලෙ තියෙන තිත්ත රසය යන්න, මඳ රස්නෙ තියෙන උණු වතුරෙ විනාඩි 5 ක් විතර තියල මිරිකගෙන රතු ළූණු, සුදු ළූණු, ගම්මිරිස්, මිටි කිරි... ආදිය දාල ව්‍යංජනයක් විදිහටත්, සාමාන්‍ය මැල්ලුමක් විදිහටත්, කලවම් මැල්ලුමක් විදිහටත් හදාගන්න පුළුවන්. හැබැයි කලවම් මැල්ලුමක් විදිහට හදාගන්නව නම් අර විදිහට උණු වතුරෙ දාන්න අවශ්‍ය නෑ. මේ මොන විදිහට හරි එරබදු ආහාරයට ගැනීම ලොකු කුඩා බාල මහලු සියලු දෙනාටම සුදුසුයි.

**කරල්හැබ :** පාරවල් අයිනෙ, ඇල ඉවුරුවල, පිට්ටනිවල වුනත් ඉතා පහසුවෙන් හොයාගන්න පුළුවන් අඩි 1 - 2 විතර උසට වැඩෙන කරල්හැබ රෝග ගණනාවකටම ඖෂධයක් වෙනවා. විශේෂයෙන් අර්ශස් ගෙඩි නිසා හට ගන්නා ලේ ගෙඩි පුපුරල යනකොට, ඒ ලේ නවත්වන්න කරල්හැබ තරම් වෙනත් ඖෂධයක් නැති තරම්. මහ බඩවැල ඇතුලෙ ගෙඩි හටගත්තම ඒ ගෙඩි මළ සමග ගැටිල පුපුරල යනවා. එයින් අධික දැවිල්ලක් හට ගන්නවා. ඒ වගේ තත්ත්වයකදි කරල්හැබ තම්බල බීමෙන් රුධිර වහනය ක්ෂණිකවම නතර වෙලා ඒ තුවාල සුව වෙන්න අවශ්‍ය ඖෂධ ශක්තියත් ලබල දෙනවා.

තවත් සුවිශේෂීය ගුණයක් තමයි සෙම ඉවත් කිරීමේ විශේෂ හැකියාව. හිස් කබල ඇතුලෙ තියෙන කෝටරකවල සෙම දූවිලි අංශු සමග එකතු වෙලා ගුලි වීමෙන් හට ගන්නා පීනස, ගල් පීනස, දිය පීනස... ආදී රෝගී තත්ත්වයන්ට කරන නස්න කිරීමෙදි පළමුවෙන්ම දෙන ඖෂධය තමයි කරල්හැබ. ඒ වගේම අධෝ මුඛය වටා ගෙඩි හැදිල වැහිල ගිය අවස්ථාවලදී භගන්දරා කියන රෝගී තත්ත්වය හට ගන්නවා. ඒ වගේ අවස්ථාවලදීත් හෙළ වෙදකමේ පළමුවෙන්ම කරන්නෙ පොල් කටු පුච්චල එන දුමට කරල් හැබ ගහ සහමුලින්ම කොටල තියල දුම් ඇල්ලීම. එයින් ඒ ගෙඩි කුඩා වෙලා රෝගී තත්ත්වය සමනය වෙනවා. පොදුවේ ගත්තම විස නැසීමේ ගුණය, හෘද රෝග, උදරාබාධ සුව කිරීමේ ගුණය, රත්පිත් සමන ගුණය, සිසිල් කාරක ගුණය කරල්හැබවල පිහිටල තියෙනවා. වෙල් කරල්හැබ, බිං කරල්හැබ කියල ප්‍රභේද කිහිපයකින් සමන්විත කරල්හැබ ආහාරයක් විදිහට ගන්න කොට ඉතා රසවත් ව්‍යංජනයක්. පරිප්පු ටිකක් එකතු කරල සාරණ මාළුවක් හදන ආකාරයට හෝ සාමාන්‍ය මැල්ලුමක් හදන ආකාරයට හෝ කොස් ඇට ටිකක් සමග ව්‍යංජනයක් ආකාරයටත් හදාගන්න පුළුවන්.

**ගස් නිවිති :** ඉතා පහසුවෙන් තණකොළ ආකාරයට වැවෙන පැළෑටි වර්ගයක්. සාමාන්‍ය නිවිතිවල කොළ, දඬු වගේ හැඳුනත් කුඩා ගහක් ආකාරයට තමයි වැවෙන්නෙ. තුන් දොස් සමනය කිරීමේ විශේෂ ගුණයක් තියෙනවා. කැල්සියම් ඌණතාවයට, දත් මුල් දියවීමට, කිරි දෙන මව්වරුන්ගේ ශරීරයේ ඇතිවෙන වෙනස්කම්වලට, අකලට හිස කෙස් ගැලවී යාම වැළැක්වීමට, මුහුණේ බෙල්ලේ කළු පැහැ ගැන්වීම වැළැක්වීමට, හන්දිපත් වේදනා සමනයට විශේෂයෙන් ගුණදායකයි. ඒ වගේම බඩේ දැවිල්ලට හේතුවන ආමාශයේ ආම්ලිකතාවය තුරන් කිරීමේ ගුණයත් තියෙනවා. ඒ වගේ අයට මිරිස් දාන්නෙ නැතිව කිරට මාළුවක් ආකාරයෙන් හදාගන්න පුළුවන්. රතු ළූණු, සුදු ළූණු, දෙහි... ආදිය එකතු කරල සම්බෝලයක් විදිහටත්, සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, එළවළු සුප් හදනකොට අතිරේක අමුද්‍රව්‍යයක් වශයෙනුත් පාවිච්චි කරන්න පුළුවන්.

**ගෙඳ :** ජපන් රෝසවලට සමාන පෙනුමක් තියෙන, ඉතා සුලබව බිම දිගේ වැවෙන මේවා දැන් අලංකාරයට ගෙවතුවලත් වගා කරනවා. නමුත් ඖෂධීය වශයෙන් ගත්තම ඉතා වැදගත් ඔසුවක්. බඩ පිපුම, අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා බඩ දැවිල්ල වහා සමනය කරන ගුණයෙන් යුක්තයි. රක්ත උෂ්ණය නිසා හිසේ හට ගන්නා ආබාධ, ඇස්වලින් කබ කඳුළු ගැලීම් ආදී ඇස් රෝගවලටත් ඉතා ගුණයි. කාන්තා රෝග සඳහාත් ගුණදායක ඖෂධයක්. ඊට අමතරව හෘද රෝග, අංශ භාගය, අධි රුධිර පීඩනය, අර්ශස්, මළ බද්ධය, රත්පිත් දෝෂ, වකුගඩු රෝග, හිසරදය, අජීර්ණය, පණු අමාරු, කෘමි විස... ආදියටත් ගුණදායකයි. තද ඇඹුල් ගතියකින් යුක්ත නිසා සම්බෝලයක් විදිහට ආහාරයට ගැනීම ඉතා යෝග්‍යයි. හීනියට ලියල පොල්, ළූණු, මිරිස්, ගම්මිරිස්... ආදිය එකතු කරල සම්බෝලයක් විදිහට හදාගන්න පුළුවන්. ඒ වගේම පරිප්පු ටිකක්, තෙල් ටිකක් දාල තෙම්පරාදු කරල ව්‍යංජනයක් විදිහටත් හදාගන්න පුළුවන්. සාරණ ව්‍යංජනයක්, කංකුං ව්‍යංජනයක් ආකාරයටත් හදාගන්න පුළුවන්. සමහර රටවල්වල දීර්ඝ කාලයක පටන් එළවළුවක් විදිහටත්, සුප් වර්ග හදාගන්නත් යොදා ගන්නවා.

**පොතු පළා :** පළා වර්ග අතරින් රසවත්ම පළා වර්ගය තමයි මේ. තෙල් ටිකක්, ළූණු ටිකක් දාල බැදුමක් විදිහටත් හදාගන්න පුළුවන්. එහෙම නැත්නම් වෙනත් පළා වර්ග හදාගන්නව වගේ ව්‍යංජනයක් විදිහටත් හදාගන්න පුළුවන්. බත් සඳහා වෙනත් කිසිදු ව්‍යංජනයක් අවශ්‍ය නැති තරම්ම රසවත්. කිරට, මිරිසට, තෙලට මේ ඕනෑම ආකාරයකට හදාගන්න පුළුවන්. ඖෂධීය ගුණ ගත්තොත්, හන්දිපත් අමාරු, කුෂ්ඨ රෝග, කබර... ආදී චර්ම රෝගවලට දිව ඔසුවක්. උපක්‍රමශීලීව මනුස්සයා විසින් මරා නොගත්, ස්වභාවිකව මැරිච්ච, එහෙම නැත්නම් සතෙක් විසින් මරපු ගෝනෙකුගෙ ගෝන අඟක් පුච්චල පොතු පළා ඉස්මෙන් ගැල්වීමෙන් පොතු කබර රෝගය සුව වෙනවා. පොතු පළා කියන නමේම ඒ අදහස ගැබ් වෙලා තියෙනවා. ඒ කියන්නෙ පොත්ත හෙවත් සමේ රෝගී තත්ත්වයන්ට ගුණදායකයි. කුෂ්ඨ රෝගී තත්ත්වයන්ටත් පොතු පළා කොටල අමු කහ සමග සහිඳ ලුණු ටිකක් එක්ක කකාරවල ගැල්වීමෙන් සුව වෙනවා. ඒ වගේම දද හෝ පරණ තුවාල නිසා හට ගත්ත ශරීරයේ කළු පැහැ ගැන්වූ ස්වභාවයන් පොතු පළා අමුවෙන් අඹරල ඉස්ම ගැල්වීමෙන් සහමුලින්ම ඉවත් කරගන්න පුළුවන්.

**දිය හබරල :** සමහරු මේකට ජපන් ජබර කියලත් රැවටෙනවා. නමුත් ජපන් ජබර වෙනයි, දිය හබරල වෙනයි. ජපන් ජබරවල එන්නෙ සුදු පාට මල්. දිය හබරලවල මල් දම් පාටයි. පුරං වෙච්ච කුඹුරුවල, පැළවෙන ගොයම් අතර සුලබව හොයාගන්න පුළුවන් පළා වර්ගයක්. ශරීරය තුල ගල් වෙච්ච සෙම දිය කිරීමේ විශේෂ ගුණයෙන් යුක්තයි. ඒ වගේම මුත්‍රා ගල්, මුත්‍රාශයේ කැල්සියම් බැඳීම නිසා ඇතිවෙන මුත්‍රා දැවිල්ල, මුත්‍රා මාර්ගයේ යම් යම් සංකූලතාවයන් නිසා හට ගන්නා කකුල් ඉදිමීම, තුනටිය වේදනා, පීනස, කාන්තාවන්ට විශේෂයෙන් ඇතිවන වේදනා... ආදියටත් දිව ඔසුවක්. ඒ වගේම අධි රුධිර පීඩනය සමනය කිරීමේ, ශරීරගත වස විස නැසීමේ ගුණයෙන් යුක්තයි. දිය හබරල කොළ සාමාන්‍ය විදිහට කපාගෙන මිරිස් ටිකක්, තෙල් ටිකක් දාල රතු ළූණු, රම්පෙ, කරපිංච... ආදිය අවශ්‍ය පමණට

එකතු කරල තෙම්පරාදු කරල ගත්තම රසවත් ව්‍යංජනයක්. නැත්නම් සාමාන්‍ය එළවළු ව්‍යංජනයක් හෝ මැල්ලුමක් විදිහට හෝ කැඳක් විදිහටත් හදාගන්න පුළුවන්.

**ගිරා පළා :** තෙතමනය තියෙන ගොඩ මඩ ඕනම තැනක නිකම්ම වැවෙන පළා වර්ගයක්. උගුර, කන, නාසය ආශ්‍රිත සියළු රෝගවලට හෙළ වෙදකමේදි ගන්නා වටිනා ඖෂධයක්. වැඩි වෙලාවක් එක දිගට කතා කිරීම නිසා ඇතිවන උගුරේ බැරැන්ඩිය, සෙම බැඳීම්... ආදී වෙනත් ආසාදනයන් නිසා ස්වරාලය වේළීමෙන් ස්වර තන්ත්‍රී හරියාකාරව ක්‍රියාත්මක කිරීමට ඇති අවහිරතා සඳහා ප්‍රතිකාර කරන්න අවශ්‍ය කරන ප්‍රධාන ඖෂධයක් තමයි ගිරා පළා. ඒ වගේම සෙම්ප්‍රතිශ්‍යාව නිසා හට ගන්නා නාසයේ අවහිරතා මගහරවා ගැනීමටත්, සෙම තද වීම නිසා ඇතිවන කන් අගුල් වැටීම... ආදී නොයෙක් අපහසුතා මග හරවා ගැනීමටත් ගිරාපළා කදිම ඖෂධයක්. ඒ වගේම ස්නායු පද්ධතිය ආශ්‍රිත රෝගවලදිත් ස්නායු ප්‍රකෘතිමත් කිරීමේ විශේෂ ගුණයෙන් යුක්තයි. ආමාශයේ බැඳිල තියෙන සෙම් කාරම් ඉවත් කිරීමේ ගුණයත් ගිරා පළා සතුයි. ගොත ගහන ළමයින්ට ඖෂධ ප්‍රතිකාර සඳහාත් ගිරා පළා යොදා ගන්නවා. ගිරවෙක් වගේ කතා කරන්න පුළුවන් කියන හැකියාව ගිරා පළා කියන වචනයේම ගැබ් වෙලා තියෙනවා. ආහාරයක් විදිහට ගන්නකොට පරිප්පු ටිකක් එක්ක පොල් කිරි ටිකක් දාල ව්‍යංජනයක් විදිහටත්, සාමාන්‍ය මැල්ලුමක් විදිහටත් හදාගන්න පුළුවන්.

**තණ පළා :** තෙතමනය තියෙන සියලු තැන්වල වැවෙන පළා වර්ගයක්. කුඹුරු, නියරවල්වල බහුලවම දකින්න තියෙනවා. ගිරා පළාවලින් වෙනස් වෙන්නෙ කොළය සහ දණ්ඩ තරමක් කුඩාවට වැවෙන නිසා. ඖෂධීය වටිනාකම ගත්තම ඉතා ඉහළයි. විශේෂයෙන් මව්වරුන්ට කිරි නැතිවෙනකොට මේවා ආහාරයට දීමෙන් ක්ෂණිකවම කිරි එරීමේ ගුණයක් එනවා. කිරිඅගුණ කොළ වගේම තණ පළාත් රුධිර නාල ප්‍රාණවත් කිරීමේ, රුධිර පට්ටිකා වර්ධනය කිරීමේ ගුණයෙන් යුක්තයි. ඒ වගේම අද බහුලවම දකින්න තියෙන පියයුරු පිළිකා මර්දනය කිරීමේ ගුණයෙනුත් යුක්තයි. මේකත් ගිරා පළා වගේම ව්‍යංජනයක් හෝ මැල්ලුමක් ආකාරයෙන් හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. පරිප්පු හෝ කොස් ඇට ටිකක් එකතු කර ගැනීමෙන් වඩාත් රසවත්ව පිළියෙල කරගන්න පුළුවන්.

**කුර පළා :** හැම තැනකම වගේ වැවෙන රසවත් පළා වර්ගයක්. ගල් කුර, සුදු කුර, රතු කුර වශයෙන් ප්‍රභේද තුනකින් යුක්තයි. මේ වර්ග 3 ම ආහාරයට ගන්න පුළුවන්. හෙළ වෙදකමේදි අවස්ථාව අනුව ගල් කුර එක් ආකාරයකටත්, සුදු කුර තවත් ආකාරයකටත්, රතු කුර තවත් ආකාරයකටත් ප්‍රයෝජනයට ගන්නවා. මේ පැළෑටිය සාරණවලට ඉතාමත් සමීපයි. වෙනස තමයි සාරණ කොළ රවුම්ව පිහිටීමත්, කුර කොළ රවුම්ව පිහිටල අග උල්ව පිහිටීමත්.

ඖෂධීය වටිනාකම ගත්තොත්, වකුගඩු සහ මුත්‍රා මාර්ගය ආශ්‍රිත සියලු රෝගවලට ඉතා ගුණදායකයි. දවිලි, රක්තවාත, උන්මාද රෝගවලටත් ගුණදායකයි. ඒ වගේම ස්නායු සක්‍රිය කිරීමේ, රුධිර පීඩනය අඩු කිරීමේ, කනේ කර්ණපටහ පටලය සන වීම තුළින් කන් ඇසීමේ දුර්වලතාවය පාලනය කිරීමේ විශේෂ ගුණයක් ගල් කුර පැළෑටියේ තියෙනවා. වායුගෝලයේ පීඩනය වෙනස් වීම් සමග, ශරීරයේ සමබරතාවය පාලනය කරන කර්ණපටහ පටලයට එපිටින් තියෙන කුඩා අස්ථි කොටස් 3 ක් තියෙනවා. සෙම් කාරම් බැඳීම නිසා ඒවා සන වීමෙන් ශරීර සමබරතාවය නැතිවෙලා යනවා. එතකොට අපිට අවශ්‍ය විදිහට ශරීරය ක්‍රියාත්මක කරන්න බැරිව යනවා. නිදාගෙන නැගිටිනකොට කැරකෙන ස්වභාවය, ඇවිදිනකොට ශරීරය පාලනයක් නැති විදිහට දැනීම, වැටෙන්න යන බව දැනීම, හිස වටා කණාමැදිරියන් යනව වගේ දැනීම... ආදී රෝග ලක්ෂණ දනෙන්න ගන්නවා. ඒ වගේ අවස්ථාවල ප්‍රතිකාරයක් වශයෙන් හෙළ වෙදකමේදි මේ කුර වර්ග 3 ම යොදා ගන්නවා. මේවා නිරන්තරයෙන් ආහාරයට ගැනීමෙන් මේ සියළු රෝගී ස්වභාවයන් මග හරවා ගන්න පුළුවන්. සාරණ ආහාරයට ගන්න විදිහටම ව්‍යංජනයක්, මැල්ලුමක්, කැඳක් විදිහට සකස් කරගන්න පුළුවන්.

සටහන
නීතිඥ චන්දන සිරිවර්ධන






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්, බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ තවත් සුවිශේෂීය ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. වර්තමානයේ වස විස කැවීම් ආදී ප්‍රයෝග විපත්ති නිසා සමාජයේ බොහෝ දෙනෙක් පීඩා විඳින සුලභ රෝග රැසකටම ප්‍රත්‍ය වන මේ බෙහෙත්, මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න. ඒ වගේම මේ සියලුම බේත් වර්ගවලට අවශ්‍ය අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ යම් කිසි අනුපාතයකට අනුව නිසා, මේ අනුපාතයම එන විදිහට අවශ්‍ය නම් අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කර ගන්න පුළුවන්.

## 1. ආතරයිටීස් ඇතුළු මුළු ශරීරයේම වේළුම දුරු කිරීම සඳහා

අවශ්‍ය අමුද්‍රව්‍ය :- අමු පුවක් කොළ ඉස්ම බෝතල් 2 යි (වතුර බෝතල් 1.5 කට පුවක් කොළ කිලෝ 3 ක් පමණ), දිය තිප්පිලි ඉස්ම බෝතල් 2 යි (වතුර නොදමා), පොතු ඉවත් කරගත් කෝමාරිකා මද කිලෝ එකහමාරයි, රට දෙල් කොළ සහ කරටි එකට කොටා ගත් ඉස්ම බෝතල් 2 යි (වතුර බෝතල් 1.5 කට කොළ සහ කරටි කිලෝ 3 ක් පමණ), කොහොඹ කොළ ඉස්ම බෝතල් 2 යි (වතුර බෝතල් 1.5 කට කොහොඹ කොළ කිලෝ 3 ක් පමණ), ස්වභාවිකව එකතු කරගත් පිනි දිය බෝතල් 2 යි, කොල්ලු කිලෝ 2 යි, උඳු කිලෝ 2 යි, මුං ඇට කිලෝ 2 යි, තල කිලෝ 2 යි.

ස්වභාවික පිනි දිය එකතු කරගන්නත් ක්‍රම කිහිපයක් තියෙනවා. සාමාන්‍යයෙන් උදේ පාන්දර ගස්, පඳුරු... ආදියේ තියෙන පිනි දිය එකතු කරගන්න පිඟානක් වගේ භාජනයක් අරගෙන ඒ ගස්, පඳුරු ආදිය හොල්ලගෙන ගියාම භාජනයට එන පිනි දිය ටික ගන්න පුළුවන්. ඒ වගේ දින කිහිපයක් කිරීමෙන් අවශ්‍ය පිනි දිය ප්‍රමාණය එකතු කරගන්න පුළුවන්. හැබැයි මේ විදිහට ගන්න පිනි දියේ ගස් පඳුරුවල තිබිච්ච දූවිලිත් තියෙන නිසා 7 වතාවක් විතර පිරිසිදු පෙරහන් කඩකින් පෙරාගන්න ඕන. එහෙම නැතිව පිරිසිදුව එකතු කරගන්න පුළුවන් තවත් ක්‍රමයක් තියෙනවා. එතනදි ලොකු ඉටි කොළයක් හතර කොනින් ගැට ගහල එළිමහනේ කණු 4 ක් උඩ රඳව ගන්නවා. ඉටි කොළයේ මැදින් පහත් වෙන්න තිරිවාන ගල් කැටයක් වගේ යම් කිසි බරක් තියල ඉටි කොළය මැදින් සිදුරක් හදාගන්නවා. දැන් මේක පුනීලයක් හැඩයට තියෙනවා. සිදුර එල්ල කරල යටින් පිනි දිය ටික එකතු වෙන්න පිරිසිදු භාජනයක් තියා ගන්නවා. ඊළඟ දවසෙ උදේ වරුවෙ ඉටි කොළයේ රැඳිච්ච පිනි තියේ නම් ඒවත් ගසල අරගෙන අර යටින් තියෙන භාජනයට එකතු කරගන්නවා. හුගක් පිනි දිය තිබුන නම් ඒවා ස්වභාවිකවම ගලාගෙන ඇවිත් අර භාජනයට එකතු වෙනවා. ඒ විදිහට අවශ්‍ය ප්‍රමාණය ලැබෙන කල් දින ගණනක් කරන්න. පින්න හුගක් තියෙන කාලයට නම් බොහොම පහසුවෙන් එකතු කරගන්න පුළුවන්.

දැන් මේ අමුද්‍රව්‍යවලින් කොල්ලු, උඳු, මුං ඇට, තල කියන මේවා කරවෙන පදමට, ඒ කියන්නෙ රන්වන් පාට නොඑන්න අමු ගතිය නැතිවෙන පදමට බැදගෙන කුඩු කරගෙන ඉහත ඉස්ම (වතුර නොදා කොටාගත් කෝමාරිකා සහ පිනි දිය ඇතුළු) සියල්ලෙන්ම එකට අනාගෙන කෝපි ගෙඩි ප්‍රමාණයට ගුලි කරල වේළගන්න. සමහර විට දියර වර්ග ඔක්කොම එකට දාල මිශ්‍ර කරගත්තම ගුලි හදන්න බැරිවෙන ගානට දියර ස්වභාවයක් එන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි ගුලි කරගන්න පුළුවන් ප්‍රමාණයට දිය හිඳෙන කල් මඳ අව්වෙ තියල දිය බස්ස ගත්තට පස්සෙ ගුලි හදාගෙන වේළගන්න. එහෙම නැත්නම් උෂ්ණත්වය පාලනය කරගන්න පුළුවන් උපකරණයකින් සෙල්සියස් අංශක 60 ට අඩු උෂ්ණත්වයක තියල අවශ්‍ය ප්‍රමාණයට දිය හිඳගෙන ගුලි කරගන්න පුළුවන්. එහෙම නැත්නම් හැමෝටම කරගන්න පුළුවන් තවත් පහසු

සරල ක්‍රමයක් තියෙනවා. ගඩොල් කැට 4 ක් තියල ළිපක් හදාගෙන ඒක උඩ කේක්... ආදිය පුච්චන්න ගන්න තැටියක් තියල යටින් දහයියා කුඩු දාල ගිනි තියන්න. එතකොට දහයියා ටික ගිනි ගන්නෙ නැතිව දුම් විතරක් දානවා. ඒ නැගෙන දුමෙන් සෙල්සියස් අංශක 60 ට වැඩි උෂ්ණත්වයක් එන්නෙ නෑ. ගුලි හදාගන්න අවශ්‍ය ප්‍රමාණයට දිය හිඳුනම බාගන්න. ඒ විදිහට හදාගත්ත ගුලි උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 2 බැගින් මාස 3 සිට 9 දක්වා සුදුසු පරිදි ගන්න.

මේ මගින් මුළු ශරීරයේම ඇට, මස්, නහර, සිවි ආදියේ ඇතිවන වේළීම දුරු වෙනවා. ඒ වගේම හිර වෙලා තද වෙලා තියෙන මස් පිඩු පෙරලෙන වේදනා, අතපයේ කැක්කුම්, කොරවීම්, තුනටියේ වේදනා දුරු වෙනවා. ශරීරයේ දුර්වල්ල, සම වියළීම නතර වෙනවා. තොල් පැළීම්, කට පැළීම්, දිවේ තුවාල, බඩේ තුවාල, අම්ල පිත්ත ප්‍රදාහය, අධි රුධිර පීඩනය සමනය වෙනවා. බඩ පපුව වේළුම, ඉක්කා වැටීම සුව වෙනවා. ආහාර අප්‍රියතාවය, මුත්‍රා දුර්වල්ල දුරු වෙනවා. ආතරයිටීස්, වස විස කැවීමෙන් හට ගත්ත ආබාධ, ස්ත්‍රීන්ගේ ගර්භාශ ආබාධ සුව වෙනවා.

**2. මුඛයේ, ආමාශයේ, බඩවැලේ පටන් අධෝ මාර්ගය දක්වා ඇතිවන තුවාල / ඉකිලි, කිහිලි... ආදී තැන්වල විසම උෂ්ණත්වය නිසා ඇතිවන තුවාල, බිබිලි, විස ශරීරගත වීමෙන් ඇතිවෙන ආබාධ සුව වීම සඳහා**

අවශ්‍ය අමුද්‍රව්‍ය :- අමු මී ගොම කිලෝ 1 යි, බ්‍රැන්ඩි බෝතල් 1/4 යි, දෙහි ඇඹුල් බෝතල් 1/4 යි. (වතුර නොදමා)

මේ සියල්ලම මිශ්‍ර කරල හොඳට අඹරල සෙල්සියස් අංශක 70 - 80 ට වැඩි නොවන උෂ්ණත්වයේ කාල් ගාමින් ගුලි පදමට එනකොට බාගන්න. කෝපි ගෙඩි තරම් පමණට ගුලි කරගෙන වේළල තියාගෙන දිනකට 3 වරක් 1 බැගින් කෑමට පසු ගන්න.

**3. කල්ගත වූ ශරීරගත විස විරේචනය ඇතුළු තවත් රෝගාබාධ සඳහා**

ඉහත අංක 2 න් සඳහන් කළ බේත සමග මේ බේතත් ගැනීමෙන් පහත රෝග සමනය කරගන්න පුළුවන්.

ශරීරයේ කල්ගත වෙලා පවතින වස විස ක්‍රමයෙන් ඉවත් වෙලා, වස විස නිසා හටගෙන තියෙන විවිධ අතුරු ආබාධ, තැලසීමියා, ශරීරගත කුෂ්ට රෝග, පොතු කබර විදිහට හම පිපිරිලා සමහර විට තුවාල එන චර්මාබාධ, නොනවතින හිසරදය, බඩවැලේ නිතර තුවාල වීම, අධික ආම්ලිකතාවය නිසාත් දන හෝ නොදන ශරීරගත වෙලා තියෙන වස විස නිසාත් ඇතිවන අම්ල පිත්ත ප්‍රදාහය (ගැස්ට්‍රයිටීස්), කොතෙක් බෙහෙත් කළත් සුව නොවන එබඳු ආබාධ මේ බෙහෙතින් නිට්ටාවට සුව කරගන්න පුළුවන්.

අවශ්‍ය අමුද්‍රව්‍ය :- බිම් පොල් ගෙඩි (ගෙඩි ඉතා කුඩා නිසා වේළල කුඩු කරල ග්‍රෑම් 500 ක් ලබා ගන්න අවශ්‍ය ප්‍රමාණයට ගන්න), පිරිසිදු තල තෙල් බෝතල් 1/4 යි, පිරිසිදු සුදු හඳුන් තෙල් අවුන්ස 4 යි, මුද්දරස්පලං ග්‍රෑම් 250 යි.

බිම් පොල් ගෙඩිවල නැටි ඉවත් කරල පොතු පිටින් වේළගෙන කුඩු කරල පෙනේරයකින් හළා ගන්න. එයින් කුඩු ග්‍රෑම් 500 කට තල තෙල්, සුදු හඳුන් තෙල්, මුද්දරස්පලං කියන මේ සියල්ලම එකතු කරල අඹරගෙන කෝපි ගෙඩි 1/2 ක තරම් ගුලි හෝ පෙති විදිහට හදාගෙන වේළ ගන්න. කෑමට පසු 1 බැගින් උදේට, රෑට නින්දට පෙර මාස 3 ක් පමණ ගන්න.

**4. බඩවැලේ බැඳුනු අපද්‍රව්‍ය ඉවත් කර රෝග රැසක් සුව කරන චූර්ණයක්**

බඩවැලේ බැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් කරල, රක්තවාත තුවාල, අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගත්ත තුවාල, බඩවැලේ සහ ආමාශයේ තුවාල, අර්ශස්, භගන්දරා, අණ්ඩවාත, හර්නියා, ගර්භාශ ආබාධ, පුරස්ථි ග්‍රන්ථියේ ඉදිමීම කියන මේ රෝගී තත්ත්වයන් සුව කරන චූර්ණයක් තමයි මේ.

මේ සඳහා යොදා ගන්නෙ හෙළ බොදු පියුම 17, 18 වෙනි සඟරා කලාපවලින් හඳුන්වා දුන්න රක්තවාත තෙල හිඳීමෙන් පසු එන තෙල්කා කියන කොටස. (17, 18 සඟරා බලන්න.) මේ තෙල්කා කොටස දිය හිඳෙන කල් ලිපේ තියල බස්සවගෙන කුඹුරු ඇටයක් තරම් ප්‍රමාණයක් උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු මාස 1 සිට 3 දක්වා ගන්න.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---



හෙළ බස නොදත් පිංවතුන් සඳහා වෙන්කළ අතිරේක පිටු 4 කි.

# Deeds & results (karma & vipäka)

05 *OUR JOURNEY IN SANSÃRA...*

A quick review of our study so far of the doctrine of deeds (karma) and results (vipäka) over the past few issues...

A quick review of our study so far of the doctrine of deeds (karma) and results (vipäka) over the past few issues...

Our introductory article contained an overview of the deeds & results doctrine with emphasis on the significance the Lord Buddha placed on it. We explained that volition is the key determining factor when it comes to appraising whether a deed is moral or immoral. Among the various types of deeds there are two which most people perform on a regular basis. These are the meritorious deeds and unmeritorious deeds, both of which have the potential to result in rebirth in the blissful or woeful planes, respectively.

The subsequent articles followed up with a detailed description of each of the ten meritorious deeds and their potential to reward us with not only material comforts, but also rebirth in the blissful plane and perhaps more importantly, the association of noble people (සත්පුරුෂ සේවනය). In this article we will begin our study of the unwholesome deeds (අකුසල කර්ම), which have the potential to bring us consequences in the form of pain, hardship, discomfort and birth in the woeful plane.

Before that however, it is worthwhile taking a look at what makes a deed capable of resulting in rebirth, as deeds do not always generate the karmic energy which has the potency to result in rebirth. Whether a deed has the potency to generate rebirth or not is conditional on a number of factors. Where these conditions are not satisfied, the karmic energy generated when performing the deed only has the potential to give results during the course of one's present or future life; it does not have the potency to generate rebirth. When the deed has the potential to result in rebirth due to the presence of these factors, the deed (කර්මය) is promoted to a deed-course (කර්ම පථය). Each of the ten unwholesome deeds has a number of associated factors which if fulfilled during the course of performing the deed, completes the deed-course. When a deed-course is completed, the karmic energy generated has the potency to generate rebirth. Where at least one of these factors is unfulfilled, a deed-course does not complete and therefore the karmic energy of such deeds will only come forth as results to beings (ප්‍රවෘත්ති විපාක) who would have been born as a result of a deed-course (ප්‍රතිසන්ධි විපාක).

Deed (කර්මය) + presence of all associated factors = Deed-course (කර්ම පථය)

From a practical viewpoint, the above phenomenon is something we will all have experienced at some point. As an example, think for a moment about a time when you felt the urge to lie about something to someone. Having had the intention to deceive, you may have formulated the lie and tested it against an alibi in your mind. However when the time came to utter the falsehood, you restrained yourself for fear of being caught out or to preserve moral integrity. The act of uttering the lie is one of the associated factors required to commit the deed-course related to lying. Although unwholesome thoughts employed to formulate the lie would invariably have accrued demerit and may result in de-meritorious consequences, as a deed-course was not completed the deed is not rebirth-generating. What this means is that this deed will not bring the doer rebirth in the woeful plane, but may bear fruit by bringing unfavourable, unpleasant consequences in the same or a future birth.

Our readers may recall from a previous issue, the Lord Buddha states that volition (චේතනාව) itself is the deed (karma). Therefore when we perform a deed, it is the thoughts which take place in our mind which generates the karmic energy. Volition is a mental-factor (චෛතසිකය) which arises with the consciousness in the mind. As it is the mind which takes precedence in committing a deed, the karmic energy released throughout the act of performing a deed is dependent on the nature of one's thoughts. As we know, it is unwholesome deeds which bring us pain, hardship and discomfort. Having an understanding of the factors which promote deeds to deed-courses is extremely helpful as this knowledge may help deter oneself from committing the unwholesome deed and

particularly from employing the associated factors which promote the deed to a deed-course and consequently prevent committing a deed which may result in rebirth in the woeful plane. In simple terms, our readers may find it helpful to understand a deed-course as the situation where a deed has been completed in full and in all aspects.

**Wrong-views (michchä dhitti)**

This is the first of the sins committed by mind only. The Lord Buddha states "නාහං භික්ඛවේ, අඤ්ඤං ඒකධම්මම්පි සමනුපස්සාමි යං ඒවං මහාසාවජ්ජං යථායිදං භික්ඛවේ මිච්ඡා දිට්ඨි. මිච්ඡා දිට්ඨි පරමා භික්ඛවේ වජ්ජානීති", "Monks, the Omniscient one does not see any other Dhamma which alone is as deceptive as wrong-view. It is the greatest detriment of all." The Lord Buddha leaves no room for doubt here when He makes the above remark. There is no sin which is as destructive, defiling and desecrating as wrong-view. The reason for this becomes clear when we look at what this entails.

Mundane wrong-view includes the following: there is no benefit to be gained from charity (නත්ථි දින්නං); no benefit to be gained from fulfilling one's duties (නත්ථි යිට්ඨං); no benefit to be gained from making offerings and observing rites and rituals (නත්ථි හුතං); no meritorious and unmeritorious deeds and corresponding results (නත්ථි සුකටදුක්කටානං කම්මානං ඵලං විපාකෝ); no existence in the present life (නත්ථි අයං ලෝකෝ); no life in the form of gandhabbhas (නත්ථි පරෝ ලෝකෝ); the mother is no one special but just another woman (නත්ථි මාතා); the father is no one special but just another man (නත්ථි පිතා); no beings born spontaneously (නත්ථි සත්තා ඕපපාතිකා); no beings who have gone forth and understood the universal truths about this world and other world systems (නත්ථි ලෝකේ සමණ බ්‍රාහ්මණා සමග්ගතා සම්මා පටිපන්නා, යෙ ඉමඤ්ච ලෝකං පරඤ්ච ලෝකං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙන්ති).

Sentient beings may adhere to one or more of the above wrong-views and they can manifest in a multitude of beliefs. Some believe that the moral decline as well as the liberation of beings happen spontaneously without cause. Then there are those who believe that beings continue to cycle in sansära until they have exhausted their time in sansära by suffering for their sins. Yet others do not believe in cause and effect, deeds and results, existence of the hells, heavens or brahma worlds. They have no regard for the Buddha, other Äryans or Nibbäna. Clearly the danger with holding on to these views is that those who do so will invariably have no fear, shame or remorse about committing sins. They have little or no motivation to perform meritorious deeds or abstain from unmeritorious deeds. They do not fear rebirth as they do not accept the existence of the woeful plane or that we may have to suffer the consequences of our sins. Above all, being deeply sceptical of the Buddha and His teachings, their conduct will inevitably bring calamitous consequences to oneself as well as others.

With no regard for the doctrine of cause and effect, beings with this view believe that there are no consequences for performing sins, persuading others to perform sins, harming others or persuading others to harm other people with or without the use of weapons, inflicting pain or discomfort upon others by causing distress. This view can drive one to commit a whole host of other sins such as killing, stealing, pillaging, abusing others, lying and slandering etc. which can cause harm to others. It should be clear from the above that wrong-view is the root cause for virtually all other unwholesome deeds.

If one holds on to one or more wrong-views and adamantly takes the false judgement that the view they hold is correct, therein itself an unmeritorious deed is committed by the mind. He who fails to rectify these wrong-views even until the moment of death is called a permanent sceptic (නියත මිත්‍යා දෘෂ්ටිකයා) is bound to be born in one of the hells. As detailed in the previous article, one's wrong-views are rectified by association with moral or noble people. Once born in the hells the opportunity to rectify wrong-views is lost as these beings do not possess the wisdom faculty and therefore have no chance of redemption and consequently are perpetually reborn in the woeful plane.

Just like today, people have always held numerous views and opinions since the beginning of time. In the time of the Gauthama Lord Budhdha, society was fraught with various wrong-views – 62 according to the texts and virtually all philosophers, of the day, believed theirs was correct and anyone with a contrary view was mistaken. Each one of them thought that they had become Enlightened. In fact, back then it was common place for philosophers to challenge each other in public on their point of view, and would often gather in public places to debate and defeat their counterparts. Examples include the Paribräjikä Jambu (who later became the Arahant Bhikkuni Bhadhrä Kundalakësä and was also appointed by the Lord Buddha as Chief among Bhikkhunis to have quickly comprehended His teaching) and the Brahmin Sachchaka who confronted venerable Säripuththa and the Lord Budhdha respectively to debate and challenge them. This puts into context the kind of society in which Lord Budhdha would have had to disseminate His teaching and the unrelenting efforts He would have had to exert to do this, with absolutely nothing expected in return. Truly His compassion knew no bounds!

The above is a description of wrong-view from a mundane perspective. Rectifying one's view from a mundane perspective helps a being to avoid being born in the hells, be born in the blissful plane and live a comfortable life. However until one has acquired supra-mundane right-view they are unable to attain Nibbäna. This is because until supra-mundane right-view is acquired, sentient beings have no understanding of what Nibbäna is or how to achieve it, also called the Four Noble Truths. They hold wrong-views with regards to the first Noble Truth of suffering;

the second Noble Truth of the cause of suffering; the third Noble Truth of the cessation of suffering and; the fourth Noble Truth of the path to cessation of suffering.

The principal objective of one's Buddhist practice should be to rectify their worldview, as once this is achieved the path to purify one's mind becomes clear to oneself. The aim of Buddhist teaching, therefore, is to help one become self-sufficient in their practice of the Dhamma. He who comprehends (note this is not the same as merely understanding or memorising) the Four Noble Truths attains the Noble fruit of Stream-enterer and is self-sufficient in their practice of the Dhamma. We will discuss Noble right-view and the Four Noble Truths in detail in a future issue.

**Covetousness (abhijjä)**

When one's views are fixed in ignorance and delusion, they tend to see the world as a treasure trove. As they are blind to the universal truths the Lord Budhdha proclaimed, they are unable to penetrate the superficial attraction of the sights, sounds, smells, tastes and touch, and therefore see objects, people and incidents which provide these five sensations as sources of infinite sensual pleasure. Based on this worldview, beings are riddled with the root desire (රාගය) and the sole purpose of their life becomes an exercise to seek and experience pleasure.

Beings with sensual desire (කාම රාගය) fulfil this purpose by dedicating their lives to acquiring material things, people and experiences in the sensual worlds (කාම ලෝක) which excite all of their five sense faculties i.e. eyes, ears, nose, tongue and body. Beings with fine-material desire (රූප රාගය) achieve pleasure in the fine-material worlds (රූපාවචර ලෝක) through their eyes and ears. Beings with immaterial desire (අරූපාවාචර රාගය) achieve pleasure in the immaterial worlds (අරූපාවාචර ලෝක) through their minds only as they lack all the other sense faculties. In the pursuit for pleasure, all worldly beings perform deeds through body, speech and mind. However, those with at least mundane right-view will make deliberate efforts to abstain from the ten unwholesome deeds including taking what does not belong to them.

To achieve this, people with at least mundane right-view and belief in deeds and results are prepared to toil and grind all day long. Being sensitive to the needs and wants of other and to prevent harm to them, they will strive to do this fairly and squarely. Where ignorance and delusion prevails, however, people are willing to acquire pleasure at others' expense. Emotions of jealousy and envy begin to surface in their minds. People become intolerant of someone else's success. Instead of being satisfied with the fruits of one's own labour and fortune, strong feelings of greed and covetousness towards others and their possessions take predominance in their hearts and minds.

"Why is it that good things always happen to her and not to me?! I wish they would happen to me instead!", "Why is it that fortune always keep knocking on our wealthy neighbours' door? Just the other day they won the lottery! I deserve it more than they do so I should have won it, not them!" or "Hey! I can't come to think how you got that promotion. That should have been me instead" are some sentiments or statements which are typical of someone who is covetous. It must be emphasised that this sin is not committed simply by being appreciative of another's gains or possessions or by merely making aspirations to acquire similar gain or possessions through one's own efforts and means. The distinguishing character here is that a person who commits this mental sin is not only desirous of someone else's possessions but also vehemently dislikes for the other person to benefit from it and wishes the benefit on oneself instead.

The unmeritorious power of this deed depends on the virtuous quality of the owner of possession about which the sinner is being covetous and the volitional intensity of the sinful thoughts. The deed is more potent where covetous thoughts are about a possession which belongs to someone who is more virtuous than one who is less so. The more intense the evil thoughts, the greater the potency of the deed.

**Hatred (vyäpädha)**

This is the third and final unmeritorious deed which is committed by the mind without the involvement of the body or speech. As our readers may know hatred is a very strong and powerful destructive emotion based in aversion (ද්වේශය). It is the intense dislike of someone or something, which goes much further beyond feeling of ill-will, anger or resentment. The distinguishing character is the want to destroy or take action to terminate that which one feels is the source of annoyance. The Sinhala term jHdmdo has the etymology වැය (pronounced "weye" and meaning to defile) + පාද (pronounced "pädha" and meaning to base). Thus the meaning we can draw from this term is to take an aversive position which directly contributes to defiling the mind of the person and along with it any wholesome qualities he or she possesses.

Hatred arises in one's mind when one feels someone or something is irritatingly against their liking. As an example, think of a situation where a man find his neighbour's pet cat always finds its way into his garden and defecates on his lawn. The man finds this quite upsetting and so initially speaks to his neighbour about this and asks him to prevent this from happening in future. The same thing happens another day and it makes the man very angry. This time the man picks the animal up, walks over to his neighbour and sternly rebukes him while handing over the animal to him. Unfortunately on yet another day the animal reoffends and seeing this the man becomes furious. He can no longer tolerate this behaviour and has thoughts of intense hate towards the animal, the neighbour or the foul deed. He picks up a rock or some other heavy object and flings it at the unsuspecting animal wishing to cause it harm

or destroy it altogether. In this example, regardless of whether the man actually picks the rock up or not, at the point which in his mind he has hateful, destructive thoughts, this unmeritorious deed has been committed.

The most prominent example from the Lord Budhdha's time is the monk Dhëvadhaththa. A number of tales in the 550 Jäthaka (stories of the Lord's previous births as a Bödhisaththva), contains an account of Dhëvadhaththa's resentful attitude towards the Bödhisaththva throughout sansära. In the Sërivänija Jäthaka story in which the Bödhisaththva and Dhëvadhaththa are merchants by the names of Sërivänija and Kachchaputa respectively, after Kachchaputa loses out on a lucrative business opportunity due to his own vileness, and Sërivänija makes great gains out of it, Kachchaputa becomes enraged. Feeling deeply hateful towards Sërivänija he picks up a handful of sand from the river bank and throwing it towards Sërivänija who by that point was already a good distance away on a raft, vows to seek revenge from him in as many births as the number of grains of sand in his hand. This vengeance carried forward from that point on and as our readers will know even in the Bödhisathva's last birth as the Budhdha, Dhëvadhaththa considered Him his arch enemy and committed heinous crimes against Him.

The unmeritorious power of this deed depends primarily on the virtuous nature of the person or being against whom someone harbours hatred. The deed is more potent where the person or being is more virtuous than one who is less so. Where their virtue is equal or hatred is expressed at an inanimate object or incident, the potency of this unmeritorious deed depends on the intensity of hate.

One can only hate if he can also love. Where love finds its roots in desire, hate has roots in aversion. Both of these emotions are taken up by beings who are ignorant and delusional to the true anichcha, dhukkha, anaththa nature of the world and everything within it. Without this insight people become so attached to themselves as well as both material and immaterial possessions including states of mind and will go to any length to protect and preserve them. When they feel they or their possessions are threatened, emotions of ill-will, disdain, anger and resentment can grow sometimes in the matter of a few moments to hatred. Something most people fail to appreciate with hatred is that feelings of hate are never pleasant or enjoyable even to the person harbouring them let alone those to whom these feelings are directed at. If you have ever experienced hatred you may remember how your heart starts pounding, your body starts to sweat and shiver with rage with an intensely bitter feeling like a fire burning within. Worst of all, the after-life consequences of hatred are so horrific that no one in their right minds would wish it on their worst enemy. All this to preserve and protect your most precious possessions which are supposed to bring you an abundance of joy, pleasure and happiness! Can you see the irony here...?!

To be continued...

*Written by*

**Ven. Battaramulle Amadassana Thero**

info@dharmayaiobai.org

http://dharmayaiobai.org/english

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 78 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දායකත්වය</u>

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා - නැදිමාල ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඞී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

<u>මූල්‍යමය දායකත්වය</u>

■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා, තත්යානා යුරේවනා මහත්මිය, පතිරගේ ආන්යා පෙරේරා සහ පතිරගේ පලීනා පෙරේරා යන දියණියන් - නැදිමාල - රු. 78,000/- ■ ධර්මයයි ඔබයි පුණ්‍ය භාරය - රු. 35,400/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ වයලට් කුසුම්ලතා වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 24,000/- ■ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ තේමික ලියනගේ පුතා, ලිතුලි ලියනගේ දුව, තිසරි ලියනගේ දුව, ඔල්ගා ලියනගේ මහත්මිය සහ දිනේෂ ලියනගේ මහතා - මහර - රු. 12,383/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිමල් ජයසිරි මහතා ඇතුළු පවුලේ සැම - බණ්ඩාරගම - රු. 10,000/- ■ චමින් පෙරේරා මහතා, යමුනා ඇල්විටිගල මහත්මිය, හෙසඳි පෙරේරා දුව - අත්තිඩිය - රු. 10,000/- ■ ඒ. ඩබ්. ජයසූරිය මහතා සහ එම්. ජයසූරිය මහතා - මාතර - රු. 5,030/- ■ පූජ්‍ය වලපනේ සාසනරතන හිමි - රු. 5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ පී. අරවින්ද කුමාර මහතා ඇතුළු පවුලේ සැම - වත්තල - රු. 5,000/- ■ රොෂාන් දිල්රුක් ජයසාන්ත මහතා, සංකේති නිර්මාණි පෙතියගොඩ මෙනවිය - කුරුණෑගල - රු. 5,000/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා, නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ නවෝදි සමෝධ්‍යා මෙනවිය - මාලබේ - රු. 3,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,800/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ වී. ජී. එච්. සමන් චිත්තානන්ද මහතා, කේ. එම්. ඩී. සමන්ති මහත්මිය, වී. ජී. එච්. පම්දු පහන් ගයමිත් පුතා - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ දිලීනා සඳරුවනි මහත්මිය - උල්ලල, කඹුරුපිටිය - රු. 2,000/- ■ චමිල ඉලංගකෝන් මහතා - හෝකන්දර - රු. 2,000/- ■ රුවන් සමරසිංහ මහතා - හෝකන්දර - රු. 2,000/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 1,500/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,500/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 1,500/- ■ වජිරා සේනානි මහත්මිය - මහනුවර - රු. 1,200/- ■ අනෝමා කරුණාරත්න මහත්මිය - ගම්පහ - රු. 1,100/- ■ ඇන්ටන් ප්‍රදීප් මහතා - කොච්චිකඩේ - රු. 1,075/- ■ පූජ්‍ය ඉඳුරානේ ඒකාලෝක හිමි - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුනිකා ප්‍රේමතිලක දුව - රදාවාන - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ රසිකා අතුකෝරාල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - කුඩාඋඩුව - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ සාරංග දර්ශන මහතා සහ සුරේකා නිල්මිණි මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 1,000/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ යූ. එච්. නිකුලස් අප්පු මහතා - මාතර - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව - රු. 1,000/- ■ ඊ. ඒ. සුරංග ධර්මසිරි මහතා - වරළුගම - රු. 1,000/- ■ උපුල් මුණසිංහ මහතා - දියකරමුල්ල - රු. 1,000/- ■ කිංකිණි ජයවර්ධන මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ එම්. තර්මාවතී පෙරේරා මහත්මිය, එඩ්මන්ඩ් පෙරේරා මහතා, සෝමරත්න පෙරේරා මහතා, සෝමාවතී පෙරේරා මහත්මිය - රු. 1,000/- ■ කේ. ඒ. තුෂාන්ත මහතා - මාලබේ - රු. 1,000/- ■ අසංක එදිරිසිංහ මහතා - මීගමුව - රු. 1,000/- ■ ඊ. ඒ. පියවතී මහත්මිය - කන්නිමහර - රු. 1,000/- ■ ඊ. ඒ. දයාවතී

මහත්මිය - නාගහහේනවත්ත - රු. 1,000/- ■ දීපිකා සිංහබාහු මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇතුල්කෝට්ටේ - රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, සෝමා කොතලාවල මහත්මිය - රුවන්වැල්ල, සෝමා කස්තුරිආරච්චි මහත්මිය සහ ජී. බී. කේ. ලියනගේ මහත්මිය - අල්ගම, කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, එම්. එස්. ගුණවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - කොළඹ 10, ප්‍රජාපතී ගෝතමී ආරාමයේ දායක සභාව - මාස්පොත - එකතුව - රු. 7,000/-, විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 5,207/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 393,695/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 327,240/- ■ අනෙකුත් වියදම් - 12,070/- ■ සම්පූර්ණ වියදම - රු. 339,310/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 28.27/- සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.waharaka.com webmaster@helabodhupiyuma.net 071 3046895 / 036 2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 011 2895132 (5) අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන් - අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 071 4569500, 035 3222220 (11) සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ 071 8261500 / 066 2245353 (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 071 2608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 (20) ඒකනායක මන්තින්දාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 - 541 64 61 / 081 - 020 57572 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 (23) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 (24) ශ්‍රී සුදර්ශනාරාමය, මහවෙල, මාතලේ 076-7997638, (25) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 (26) සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර 077-4182684 / 077-0844980 (27) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077-2292677 / 071-3228571 (28) සමනල පොත්හළ - නෙළුව - 071 2837757 (29) රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 (30) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (31) සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (33) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 4569500 / 035 3222220 (34) අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 (35) උපාලි පූජා භාණ්ඩ මන්දිරය - හොරණ 077 7722531 (36) ශෛල පබ්බතාරාමය, ගිජිදාගම, පොල්ගහවෙල 071 212 5880 (37) ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 - 5827923 (38) අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව 071 - 1211876 (39) වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 078 - 8506619, 071 - 8375871 (40) ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 - 4902817 (41) හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 0788 987 930 / 071 - 837 58 71

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# සමුගත් සමිඳ
# සිහිවෙයි එදවස කී දේ...

සව් පාරමී පුරා බුදු විවරණ අනුව
ලොව්තුරු දහම මතු කර ගුණ කඳ වැනුව
දිවි බිය සසර අවිදුව යන්නට සුනුව
සිව් පිළි නැණින් දම් දෙසු හිමි ලොව දිනුව

කොතැනින් විමසුවත් හිමි දම් දෙසුම කර
නිවනින් කෙළවරයි කොපමණ ගියද දුර
නැණසින් දෙසන ඒ දම් කඳ නොඇසු පෙර
තිලොවින් ජය ගෙනෙයි අනතවු සසර හැර

දන් පෙත් ගිලන් පස කය වෙහෙසද නොතක
දුන් දම් වදන් ගෙන දෙයි නිවනම නිසැක
පින් ඇති දනන් හඳුනා තෙපළන ඹසක
පුන් සඳ එළිය මෙනි ඝනඳුර ලන ලොවක

සසුන තුල සිටින උන් හී පහර විද
වසන විට දහම යළි මතු කරන ලද
සිතන සැණින් මුවගට ආ අමත පද
ඇසුන විගස නිවනයි මිස දිටුව බිඳ

අදටත් සමිඳු ගැන නොම දත් මිනිසුන් වේ
හෙටටත් කල් ගෙවා පුහුදුන් ලෙස වෙන් වේ
ලොවටත් ණය වෙවී යළි දුක් කඳකින් වේ
යට යත් දහම එනමුත් දුක නොම සුන් වේ

කරුම බලය ඉක්මන් විය සමු ගන්න
නරුමයන්ද වස විස දුනි වන සන්න
දරුණු වේදනා දුක් කඳ ගෙන දුන්න
උරුම වුනත් භව දුක නැත යළි එන්න

පැතිරෙයි දහම තුන් ලොව ගෙන දෙන දිනුම
ඉතිහාසයේ ලියවෙයි ගුණ කඳ වැනුම
අති දුලභවූ සසුන යට ගිය විට තැනුම
වෙති අනුබුදු පියෙකු ලෙස සතහට පෙනුම

වසරක් ගියා හිමි සමුගෙන පිරි නිවනින්
රසවත් දහම ඇත මතු කළ නැණ නුවණින්
දෙසවන් යොමා ගොඩ ගිය සව් සත ගණනින්
දෙසමින් ඇත දහම නිවනම දෙන නිතැනින්

අකලට හැදුනු මී අඹයකි අම රස ගත්
මෙකලෙහි දුලභ ධාතුද නෙක නෙක පැහැ පත්
නිකමට ගියත් වැඳ ගෙන පින් කඳ මතු වත්
දැක දැක බනින උන් හද වේවා සුව පත්

දහමත් නගා නැති කර මිස දිටු වාදේ
කළ මෙත් සතට දම් හඬ දුන් කව් නාදේ
මෙකලත් දහම ඇත නිවනට මග පෑදේ
සමුගත් සමිඳ සිහි වෙයි එදවස කීදේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

